# භූගෝල විද්‍යාව

## 9 ශ්‍රේණිය

අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව



සියලු ම පෙළපොත් ඉලෙක්ට්‍රොනික් මාධ්‍යයෙන් ලබා ගැනීමට
www.edupub.gov.lk වෙබ් අඩවියට පිවිසෙන්න.

# ශ්‍රී ලංකා ජාතික ගීය

ශ්‍රී ලංකා මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා
සුන්දර සිරිබරිනී, සුරැඳි අතිසෝබමාන ලංකා
ධාන්‍ය ධනය නෙක මල් පලතුරු පිරි ජය භූමිය රම්‍යා
අපහට සැප සිරි සෙත සදනා ජීවනයේ මාතා
පිළිගනු මැන අප භක්ති පූජා
නමෝ නමෝ මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා
ඔබ වේ අප විද්‍යා  ඔබ ම ය අප සත්‍යා
ඔබ වේ අප ශක්ති  අප හද තුළ භක්ති
ඔබ අප ආලෝකේ  අපගේ අනුප්‍රාණේ
ඔබ අප ජීවන වේ  අප මුක්තිය ඔබ වේ
නව ජීවන දෙමිනේ නිතින අප පුබුදු කරන් මාතා
ඥාන වීර්ය වඩවමින රැගෙන යනු මැන ජය භූමි කරා
එක මවකගෙ දරු කැල බැවිනා
යමු යමු වී නොපමා
ප්‍රේම වඩා සැම භේද දුරැර ද නමෝ නමෝ මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා

තිළිණය ලෙසින් රජයෙන් මේ පොත ලදිමි
කියවා එයින් නැණ ගුණ එළි කර ගනිමි
මගෙ රට වෙනුවෙන් ම දෑ සම්පත් රකිමි
මේ පොත එන වසරෙ වෙන කෙනකුට පුදමි

**அரசின் வெகுமதியாய் நூலிதனைப் பெற்றேன்**
**அறிவு பெருகிடவே நூலிதனைக் கற்பேன்**
**தாய் நாட்டின் வளமெனவும் நூலிதனைக் காப்பேன்**
**பல மாணவரும் பயின்றிடவே நூலிதையே அளிப்பேன்**

From the government, I received this as a gift
I'll read it, light up my knowledge and practise thrift
On my country's own behalf, I'll protect the national resources
And offer this book to another one as a fresh garland of roses



"අලුත් වෙමින්, වෙනස් වෙමින්, නිවැරදි දැනුමෙන්
රටට වගේ ම මුළු ලොවට ම වෙන්න නැණ පහන්"

<u>ගරු අධ්‍යාපන අමාත්‍යතුමාගේ පණිවුඩය</u>

ගෙවී ගිය දශක දෙකකට ආසන්න කාලය ලෝක ඉතිහාසය තුළ සුවිශේෂී වූ තාක්ෂණික වෙනස්කම් රැසක් සිදුවූ කාලයකි. තොරතුරු තාක්ෂණය, සන්නිවේදනය ප්‍රමුඛ කරගත් සෙසු ක්ෂේත්‍රවල ශීඝ්‍ර දියුණුවත් සමඟ වත්මන් සිසු දරු දැරියන් හමුවේ නව අභියෝග රැසක් නිර්මාණය වී තිබේ. අද සමාජයේ පවතින රැකියාවල ස්වභාවය නුදුරු අනාගතයේ දී සුවිශේෂී වෙනස්කම් රැසකට ලක් වනු ඇත. එවන් වටපිටාවක් තුළ නව තාක්ෂණික දැනුම සහ බුද්ධිය කේන්ද්‍ර කරගත් සමාජයක වෙනස් ආකාරයේ රැකියා අවස්ථා ද ලක්ෂ ගණනින් නිර්මාණය වනු ඇත. ඒ අනාගත අභියෝග ජයගැනීම වෙනුවෙන්, ඔබ සවිබල ගැන්වීම අධ්‍යාපන අමාත්‍යවරයා ලෙස මගේත්, අප රජයේත් ප්‍රමුඛ අරමුණයි.

නිදහස් අධ්‍යාපනයේ මාහැඟි ප්‍රතිලාභයක් ලෙස නොමිලේ ඔබ අතට පත් වන මෙම පොත මනාව පරිශීලනය කිරීමත්, ඉන් අවශ්‍ය දැනුම උකහා ගැනීමත් ඔබේ ඒකායන අරමුණ විය යුතු ය. එමෙන් ම ඔබේ මවුපියන් ඇතුළු වැඩිහිටියන්ගේ ශ්‍රමයේ සහ කැපකිරීමේ ප්‍රතිඵලයක් ලෙස රජය විසින් නොමිලේ පාසල් පෙළපොත් ඔබ අතට පත් කරනු ලබන බව ද ඔබ වටහා ගත යුතු ය.

ලෝකය වේගයෙන් වෙනස් වන වටපිටාවක, නව ප්‍රවණතාවලට ගැළපෙන අයුරින් නව විෂය මාලා සකස් කිරීමටත්, අධ්‍යාපන පද්ධතිය තුළ තීරණාත්මක වෙනස්කම් සිදු කිරීම සඳහාත් රජයක් ලෙස අප කටයුතු කරන්නේ රටක අනාගතය අධ්‍යාපනය මතින් සිදු වන බව අප හොඳින් ම අවබෝධ කරගෙන සිටින බැවිනි. නිදහස් අධ්‍යාපනයේ උපරිම ප්‍රතිඵල භුක්ති විඳිමින්, රටට පමණක් නොව ලොවට ම වැඩදායී ශ්‍රී ලාංකික පුරවැසියකු ලෙස නැඟී සිටින්නට ඔබ ද අදිටන් කරගත යුතු වන්නේ එබැවිනි. ඒ සඳහා මේ පොත පරිශීලනය කිරීමෙන් ඔබ ලබන දැනුම ද ඉවහල් වනු ඇති බව මගේ විශ්වාසයයි.

රජය ඔබේ අධ්‍යාපනය වෙනුවෙන් වියදම් කරන අතිවිශාල ධනස්කන්ධයට වටිනාකමක් එක් කිරීම ද ඔබේ යුතුකමක් වන අතර, පාසල් අධ්‍යාපනය හරහා ඔබ ලබා ගන්නා දැනුම හා කුසලතා ඔබේ අනාගතය තීරණය කරන බව ද ඔබ හොඳින් අවබෝධ කර ගත යුතු ය. ඔබ සමාජයේ කුමන තරාතිරමක සිටිය ද සියලු බාධා බිඳ දමමින් සමාජයේ ඉහළ ම ස්තරයකට ගමන් කිරීමේ හැකියාව අධ්‍යාපනය හරහා ඔබට හිමි වන බව ද ඔබ හොඳින් අවධාරණය කර ගත යුතු ය.

එබැවින් නිදහස් අධ්‍යාපනයේ උපරිම ප්‍රතිඵල ලබා, ගෞරවනීය පුරවැසියකු ලෙස හෙට ලොව දිනන්නටත් දේශ දේශාන්තරවල පවා ශ්‍රී ලාංකේය නාමය බබළවන්නටත් ඔබට හැකි වේවා! යි අධ්‍යාපන අමාත්‍යවරයා ලෙස මම ශුභ ප්‍රාර්ථනය කරමි.



**අකිල විරාජ් කාරියවසම්**

අධ්‍යාපන අමාත්‍ය

# පෙරවදන

ලෝකයේ ආර්ථික, සමාජීය, සංස්කෘතික හා තාක්ෂණික සංවර්ධනයත් සමග අධ්‍යාපන අරමුණු වඩා සංකීර්ණ ස්වරූපයක් ගනී. මිනිස් අත්දැකීම්, තාක්ෂණික වෙනස්වීම්, මනෝවිද්‍යාත්මක පර්යේෂණ සහ අධ්‍යාපනය පිළිබඳ නව දර්ශක ඇසුරෙන් ඉගෙනීමේ හා ඉගැන්වීමේ ක්‍රියාවලිය ද නවීකරණය වෙමින් පවතී. එසේ වුව ද ශිෂ්‍ය අවශ්‍යතාවලට ගැළපෙන ලෙස ඉගෙනුම් අත්දැකීම් සංවිධානය කරමින් ඉගැන්වීම් ක්‍රියාවලිය පවත්වාගෙන යාම සඳහා විෂය නිර්දේශයේ දැක්වෙන අරමුණුවලට අනුකූලව, විෂයානුබද්ධ කරුණු ඇතුළත්ව පෙළපොත සම්පාදනය වීම අවශ්‍ය ය. පෙළපොත ශිෂ්‍යයාට ඉගෙනීමේ උපකරණයක් පමණක් නොව ඉගෙනුම් අත්දැකීම් ලබාගැනීමට, අභියෝගතා වර්ධනයට, චර්යාමය හා ආකල්ප වර්ධනයක් වන පරිදි ඉහළ අධ්‍යාපනයක් ලැබීමට ඉවහල් වන ආශීර්වාදයකි.

රටට වැඩදායී, පූර්ණ පෞරුෂයකින් හෙබි, යහපත් පුරවැසියකු වීමේ පරිචය ලබා ගැනීමට මෙම පෙළපොත ඔබට උපකාරී වෙතැයි මම අපේක්ෂා කරමි.

මෙම පෙළපොත් සම්පාදනයට දායක වූ ලේඛක, සංස්කාරක හා ඇගයුම් මණ්ඩල සාමාජික මහත්ම මහත්මීන්ටත් අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුවේ කාර්ය මණ්ඩලයටත් මාගේ ස්තුතිය පළ කර සිටිමි.

**ඩබ්ලිව්. ඩී. පද්මිණී නාලිකා**
අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්,
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව,
ඉසුරුපාය,
බත්තරමුල්ල.
2018.05.07

| | |
|---|---|
| **නියාමනය හා අධීක්ෂණය** | ඩබ්ලිව්. ඩී. පද්මිණි නාලිකා<br>අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්<br>අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව |
| **මෙහෙයවීම** | ඩබ්ලිව්. ඒ. නිර්මලා පියසීලි<br>අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් (සංවර්ධන)<br>අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව |
| **සම්බන්ධීකරණය** | ඒ. එම්. ආර්. කේ. අධිකාරි<br>සහකාර කොමසාරිස්<br>අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව |
| **සහාය සම්බන්ධීකරණය** | වී. ජී. ඩයනා දිල්රුක්ෂි<br>සංවර්ධන නිලධාරි<br>අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව |

## සංස්කාරක මණ්ඩලය

| | |
|---|---|
| 1. සම්මානිත මහාචාර්ය එන්.කේ. දන්ගල්ල | කැලණිය විශ්වවිද්‍යාලය |
| 2. මහාචාර්ය එස්. ඒ. නෝබට් | කොළඹ විශ්වවිද්‍යාලය |
| 3. කුසුම් පියසීලි කරුණාසිංහ | බාහිර කථිකාචාර්ය<br>සාගර විශ්වවිද්‍යාලය |
| 4. ආර්. පී. පීරිස් | අතිරේක කොමසාරිස් (විශ්‍රාමික)<br>විභාග දෙපාර්තමේන්තුව |
| 5. රංජනී ධනවර්ධන | අධ්‍යක්ෂ, සමාජ විද්‍යා දෙපාර්තමේන්තුව,<br>ජාතික අධ්‍යාපන ආයතනය |
| 6. එස්. කරුණාගරන් | කථිකාචාර්ය,<br>ජාතික අධ්‍යාපන ආයතනය |

## ලේඛක මණ්ඩලය

| | |
|---|---|
| 1. එන්. ඒ. චිත්‍රලතා මිය | ගුරු උපදේශිකා,<br>කලාප අධ්‍යාපන කාර්යාලය, මාතර. |

| | |
|---|---|
| 2. කේ. කේ. යූ. ගුණරත්න | ගුරු සේවය<br>ගා/ පොල්පාගොඩ ම. වි., යක්කලමුල්ල |
| 3. ඩබ්ලිව්. කේ. පී ධර්මවර්ධන | ගුරු සේවය, සාන්ත පීතර ම.ම.වි., මීගමුව |
| 4. කේ. සෝමදාස | ගුරු උපදේශක<br>කලාප අධ්‍යාපන කාර්යාලය, මාතර |
| 5. ඩී. එම්. ජේ. බණ්ඩාර | ගුරු සේවය, කුලි/සාරානාත් විද්‍යාලය,<br>කුලියාපිටිය |
| 6. යාලිනී කරුණාගරන් | ගුරු සේවය,<br>ශාන්ත ක්ලෙයාර්ස් විද්‍යාලය, කොළඹ 06 |
| 7. ටී. ශර්මිලා දර්ශනී | ගුරු සේවය, රජවැල්ල ජාතික පාසල,<br>දිගන |
| 8. එස්. ඉලන්කෝවන් | ගුරු සේවය,<br>ම/කක/කරුවකෙරණි විග්නේෂ්වරන්<br>විද්‍යාලය |
| 9. ටී. ශ්‍රී සුරේෂ්කුමාර් | කලාප අධ්‍යාපන කාර්යාලය, මාතලේ |
| 10. එස්. බාලසුන්දරම් | 222/14, බණ්ඩාරනායක ම. වි,<br>කොළඹ 12 |

## භාෂා සංස්කරණය

| | |
|---|---|
| එම්. ඒ. එම්. දමයන්ති | "ළඟ ම පාසල හොඳ ම පාසල"<br>ව්‍යාපෘති ශාඛාව<br>අධ්‍යාපන අමාත්‍යාංශය |

## පිටකවර නිර්මාණය

| | |
|---|---|
| ආර්. ඒ. යුරේකා දිල්රුක්ෂි | පරිගණක අංශය<br>අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව |

## පරිගණක අක්ෂර සංයෝජනය හා පිටු සැකසුම

| | |
|---|---|
| ආර්. ඒ. යුරේකා දිල්රුක්ෂි | පරිගණක අංශය<br>අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව |

# පටුන





# 1

# ආසියානු ප්‍රදේශය




**අපේ රට ශ්‍රී ලංකාව යි. ශ්‍රී ලංකාව ආසියා මහාද්වීපයට අයත් ය. එබැවින් ආසියානු ප්‍රදේශය පිළිබඳ ව වැදගත් වන තොරතුරු විමසා බැලීම මෙම පාඩමේ අරමුණ යි.**

# ආසියාවේ භූගෝලීය පිහිටීම

## සාපේක්ෂ පිහිටීම

ආසියා මහාද්වීපය පෘථිවියේ උතුරු අර්ධ ගෝලයේ, නැගෙනහිර අර්ධයේ පිහිටා ඇති අතර එය භූගෝලීය වශයෙන් යුරෝපා මහාද්වීපය හා සම්බන්ධ ය. එමෙන් ම ආසියා මහාද්වීපයට අයත් ඇතැම් දූපත්වලින් කොටසක් දකුණු අර්ධ ගෝලයේ ද ව්‍යාප්ත ව ඇත. (1.1 රූපය).



1.1 රූපය - ආසියා මහාද්වීපයේ භූගෝලීය පිහිටීම

- **උතුරින් ආක්ටික් සාගරයෙන් ද,**
- **නැගෙනහිරින් පැසිපික් සාගරයෙන් ද,**
- **දකුණෙන් ඉන්දියන් සාගරයෙන් ද,**
- **බටහිරින් යුරෝපා මහාද්වීපයෙන් ද** ආසියාව ප්‍රධාන වශයෙන් මායිම් වේ.

යුරෝපය හා ආසියාව භූගෝලීය වශයෙන් එක් භූමි ස්කන්ධයක් ලෙස පිහිටා ඇති අතර යුරෝපය සහ ආසියාව එක් ව සලකා එය යුරේසියාව ලෙස හැඳින්වේ. යූරල් කඳුවැටිය, යූරල් ගඟ, කැස්පියන් මුහුද, කොකේසස් කඳු, කළු මුහුද, මධ්‍යධරණී මුහුද, සූවස් ඇළ හා රතු මුහුද ආසියාව යුරෝපයෙන් හා අප්‍රිකාවෙන් වෙන් වන මායිම් වේ.

ආසියා මහාද්වීපයට අයත් දූපත් රාශියක් ද තිබේ. ජපන් දූපත්, ඉන්දුනීසියානු දූපත්, පිලිපීන දූපත්, ශ්‍රී ලංකාව සහ තායිවානය එම දූපත් අතර ප්‍රමාණයෙන් විශාල දූපත්වලට උදාහරණ වේ. අන්දමන්, නිකොබාර් සහ මාලදිවයින් ප්‍රමාණයෙන් කුඩා දූපත්වලට උදාහරණ ලෙස දැක්විය හැකි ය.

## නිරපේක්ෂ පිහිටීම

පෘථිවිය මත කිසියම් ස්ථානයක හෝ ප්‍රදේශයක පිහිටීම නිශ්චිත ව දක්වන්නේ අක්ෂාංශ හා දේශාංශ හෙවත් භූගෝලීය ඛණ්ඩාංක (Geographical coordinates) උපයෝගී කර ගෙන ය. ඒ අනුව ආසියානු ප්‍රදේශයේ නිරපේක්ෂ පිහිටීම අක්ෂාංශ හා දේශාංශ රේඛා පදනම් කරගෙන පහත සඳහන් පරිදි දැක්විය හැකි ය.

**ආසියා මහාද්වීපය දකුණු අක්ෂාංශ $10^0$ සිට උතුරු අක්ෂාංශ $80^0$ අතර සහ නැගෙනහිර දේශාංශ $25^0$ සිට $180^0$ අතර පිහිටා ඇත.**

## ආසියානු ප්‍රදේශයේ සුවිශේෂත්වය

භෞතික හා මානුෂ වශයෙන් සුවිශේෂී වූ ලක්ෂණ රැසක් ආසියානු ප්‍රදේශයේ දක්නට ඇත.

භෞතික හා මානුෂ වශයෙන් සුවිශේෂී වූ ලක්ෂණ කිහිපයක්

- විශාලතම මහාද්වීපය වීම
- සියලු ම දේශගුණ වර්ග දක්නට ලැබීම
- මානව වර්ග, ජන වර්ග, භාෂා හා සංස්කෘතික විවිධත්වය
- ප්‍රධාන ආගම් රැසක නිජබිම වීම
- ලෝකයේ විශාලතම කඳු පද්ධතිය සහ වඩාත් උස ම කඳු ශිඛරය පිහිටා තිබීම
- වැඩි ම ජන සංඛ්‍යාවක් වාසය කිරීම

ආසියා මහාද්වීපයේ විශාලත්වය වර්ග කිලෝමීටර මිලියන 44.6ක් පමණ වේ. (44,579,000 $km^2$) එය පෘථිවියේ මුළු ගොඩබිම් ප්‍රමාණයෙන් 30%ක් පමණ වන අතර සමස්ත පෘථිවි තලයෙන් 8.7%කි.

මූලාශ්‍රය : ***https://en.wikipedia.org/wiki/Asia 2017.02.05***

ලෝකයේ විශාලතම කඳු පද්ධතිය වන හිමාලය පිහිටා ඇත්තේ ආසියා මහාද්වීපයේ ය. මීටර් 8848ක උසින් යුතු ලෝකයේ වඩාත් උස ම කඳු ශිඛරය වන එවරස්ට් එහි පිහිටා ඇත. එමෙන් ම මුහුදු මට්ටමට වඩා පහළින් පිහිටි මළ මුහුද ද ආසියානු ගොඩබිම් ප්‍රදේශයේ පිහිටා ඇත. ලෝකයේ වැඩි ම වර්ෂාපතනයක් ලැබෙන ඉන්දියාවේ මේඝාලයා ප්‍රාන්තයේ පිහිටි චෙරාපුංජි ප්‍රදේශය ද වර්ෂාව අඩුවෙන් ම ලැබෙන ප්‍රදේශය ලෙස සැලකෙන ගෝබි කාන්තාරය ද පිහිටියේ ආසියා මහාද්වීපයේ ය.

ලෝකයේ පවත්නා සෑම දේශගුණ වර්ගයක් ම මෙහි දක්නට ඇත. එබැවින් ලෝකය පුරා දක්නට ලැබෙන සෑම වනාන්තර වර්ගයක් ම ආසියාව තුළ ව්‍යාප්ත ව පවතී. ඒ නිසා මෙම ප්‍රදේශයේ ශාක හා සත්ව විවිධත්වය හෙවත් ජෛව විවිධත්වය ඉතා ඉහළ ය.

ජන සංඛ්‍යාවේ විශාලත්වය අනුව ලෝක ජන සංඛ්‍යාවෙන් අඩකටත් වැඩි ප්‍රමාණයක් හෙවත් 60%ක් පමණ ආසියානු ප්‍රදේශයේ වාසය කරයි. ලෝකයේ වැඩි ම ජන සංඛ්‍යාවක් වෙසෙන රටවල් දෙක වන චීනය සහ ඉන්දියාව ආසියාවේ පිහිටා තිබීම ද විශේෂත්වයකි. එමෙන් ම ලෝකයේ වඩාත් ජනාධික රටවල් 10ට ඇතුළත් වන ඉන්දුනීසියාව, පාකිස්ථානය, බංග්ලාදේශය සහ ජපානය ද ආසියානු ප්‍රදේශයට අයත් රටවල් ය. ඒ අනුව ලෝකයේ වඩාත් ජනාධික රටවල් 10න් 6ක් ම ආසියානු රටවල් වේ.

ආසියාවේ සාමාන්‍ය ජන ඝනත්වය වර්ග කිලෝමීටරයට 87කි. එහෙත් වර්ග කිලෝමීටරයට 3000ට වැඩි ජන ඝනත්වයක් සහිත ප්‍රදේශ ද ආසියාවේ ඇත. ස්වාධීන රටවල් හෙවත් රාජ්‍යයන් 54ක් ආසියානු ප්‍රදේශයේ පිහිටා ඇත. ***(https://en.wikipedia.org/wiki/Asia 2017.02.05)***

මානව සහ වාර්ගික වශයෙන් ද, සංස්කෘතික වශයෙන් ද විවිධත්වයක් දක්නට ලැබීම ආසියානු ප්‍රදේශයේ ජන සංඛ්‍යාවේ විශේෂත්වයකි. විවිධ ජන වර්ග වාසය කරන බැවින් විවිධ භාෂාවන් පැවතීම ද විශේෂ ලක්ෂණයකි. චීනයේ පමණක් භාවිත වන භාෂා 297ක් පමණ පවතින බව, ලෝකයේ භාවිත කරන භාෂා පිළිබඳ තොරතුරු දක්වන එත්නොලොග් (Ethnologue) ප්‍රකාශනයේ සඳහන් වේ. ***(https://en.wikipedia.org/wiki/Asia 2017.02.05)***

ලොව ඉපැරණි ශිෂ්ටාචාර වන මෙසපොටේමියානු, හොවැංහෝ, ඉන්දු නිම්න ශිෂ්ටාචාර බිහි වූ ප්‍රදේශය වීමත් බෞද්ධ ධර්මය, හින්දු ධර්මය, ඉස්ලාම් ධර්මය සහ කතෝලික ධර්මය යන ලොව ප්‍රධාන ආගම්වල නිජබිම වීමත් ආසියාවේ සුවිශේෂත්වයට හේතු වේ. එබැවින් වර්තමානයේ බෞද්ධ, ක්‍රිස්තියානි, ඉස්ලාම්, හින්දු ආදී විවිධ ආගම් අදහන ජනතාවක් මෙම ප්‍රදේශයේ වාසය කරති.

### ක්‍රියාකාරකම්

1. ආසියා මහාද්වීපයේ සාපේක්ෂ පිහිටීම විස්තර කළ හැකි භූගෝලීය මායිම් හඳුන්වන්න.
2. එම මායිම් ලෝක ආකෘති සිතියමක ලකුණු කර ආසියා මහාද්වීපය සේයා කර දක්වන්න.
3. ආසියානු ප්‍රදේශය ලෝකයේ සුවිශේෂ කලාපයක් ලෙස හැඳින්වීමට/ වැදගත් වීමට හේතු වන කරුණු ලැයිස්තුවක් සකසන්න.
4. ආසියාවේ දේශපාලන බෙදීම් සිතියම ඇසුරෙන් ආසියා මහාද්වීපයට අයත් රටවල් ලැයිස්තු ගත කරන්න.

# ආසියාවේ භෞතික භූ දර්ශනය

## භූ විෂමතාව


1.2 රූපය - එවරස්ට් කන්ද

හිමාලය කඳු පද්ධතිය ආසියානු ප්‍රදේශයේ කැපී පෙනෙන භූ ලක්ෂණය වේ. මෙම කඳු පද්ධතිය කිලෝමීටර් 2500ක් පමණ දිගට විහිදී පවතින අතර වර්ග කිලෝමීටර් 6,12,000ක් පමණ භූමි ප්‍රදේශයක පැතිර පවතී. ඉන්දියාව මෙම විශාල කඳු වැටිය නිසා ආසියාවෙන් වෙන් වී පෙනෙන බැවින් එය ඉන්දීය උපමහාද්වීපය ලෙස ද හැඳින්වේ. එවරස්ට් ඇතුළු ව උස මීටර් 7000 ඉක්මවන තවත් කඳු මුදුන් විශාල සංඛ්‍යාවක් හිමාලය කඳු පද්ධතිය තුළ පිහිටා ඇත.

**1.1 වගුව - හිමාලය කඳු පද්ධතිය තුළ පිහිටි වඩාත් උස කඳු ශිඛර** (Highest Peakes)

| කඳු ශිඛරය | උස (මීටර්) |
|---|---|
| එවරස්ට් (Everest) | 8848 |
| කන්චන්ජුන්ගා (Kanchenjunga) | 8586 |
| මකාලු (Makalu) | 8462 |
| ධවලගිරි (Dhaulagiri) | 8167 |
| මනස්ලු (Manaslu) | 8156 |
| නන්ගා පාබට් (Nanga Parbat) | 8126 |
| අන්නපූර්ණා (Annapurna) | 8091 |
| නන්දා දේවි (Nanda Devi) | 7817 |

මූලාශ්‍රය : ***https://en.wikipedia.org/***

අල්තායි, කුන්ලූන්, කාරකෝරම්, ටියෙන්ෂාන්, සාටිස්, සාග්‍රොස් සහ යූරල්, ආසියාවේ පිහිටි අනෙකුත් විශාල කඳු පද්ධති වේ.

ලෝකයේ ඉතා විශාල සානු කීපයක් ද ආසියාවේ පිහිටා ඇත. ටිබෙට් සානුව, පාමීර් සානුව, ඩෙකෑන් සානුව, මධ්‍යම සයිබීරියානු සානුව, ඉරාන සානුව ඉන් කිහිපයකි. ටිබෙට් සානුව ලෝකයේ වඩාත් උසින් ම පිහිටි සානුව වෙයි. එය මුහුදු මට්ටමේ සිට මීටර් 5000ක් පමණ උස් වන අතර හිමාලය, කාරකෝරම් සහ පාමීර් කඳුවලින් වට වී

පිහිටා ඇත. ලෝකයේ වඩාත් උසින් ම පිහිටීමත්, විශාල බිම් ප්‍රදේශයක පැතිරී තිබීමත් නිසා ටිබෙට් සානුව ''**ලෝකයේ පියස්ස**'' *("Rooftop of the World")* යන අන්වර්ථ නාමයෙන් හඳුන්වනු ලබයි.

උතුරු ආසියාව ඉතා විශාල තැනිතලා බිම් ප්‍රදේශයකි. එය බටහිර සයිබීරියානු තැන්න ලෙස හැඳින්වේ. මැන්චූරියානු තැන්න සහ චීන මහා තැන්න ද ආසියාවේ විශාල තැනිතලාවන් ය. සින්ධු ගඟ, ගංගා නම් ගඟ, හොවැංහෝ ගඟ යන ගංගාවන්හි නිම්න ආශ්‍රිත ව ද මෙම කලාපයේ විශාල තැනි බිම් ප්‍රදේශ පිහිටා ඇත (1.1 සිතියම).

## ජලවහනය

ජලවහනයේ ප්‍රධාන ලක්ෂණය වන්නේ ආසියානු ප්‍රදේශය පුරා පැතිරුණු විශාල ගංගා පද්ධති රාශියක් පිහිටා තිබීම යි. මෙම ගංගා ලෝකයේ විවිධ සාගර හා මුහුදුවලට ගලා බසී.

- ඕබ්, යෙනිසි සහ ලීනා යන ගංගා ආක්ටික් සාගරයට ද
- අමූර්, හොවැංහෝ සහ යැංසි යන ගංගා පැසිපික් සාගරයට ද
- ගංගා, ඉන්දු, බ්‍රහ්මපුත්‍රා, මීකොං, ඉරවඩි සහ සැල්වීන් යන ගංගා ඉන්දියන් සාගරයට ද
- යුප්‍රටීස් සහ ටයිග්‍රීස් යන ගංගා පර්සියන් බොක්කට ද ගලා බසී.

අභ්‍යන්තර මුහුදුවලට ගලා බසින ගංගා කිහිපයක් ද වේ.

- සර්ඩේරියා සහ අමුඩේරියා යන ගංගා ඒරල් මුහුදට ද
- යූරල් ගංගාව කැස්පියන් මුහුදට ද ගලා බසී



**1.3 රූපය - හොවැංහෝ (කහ ගඟ) - චීනය**



**1.4 රූපය - ගංගා නම් ගඟ - ඉන්දියාව**




1.1 සිතියම - ආසියාවේ භෞතික භූ දර්ශනය

මූලාශ්‍රය : ගුණසේන ෆිලිප්ස් ලෝක සිතියම් පොත, 2016

1.2 වගුව - ආසියාවේ ප්‍රධාන ගංගා

| ගංගාව | දිග (km) |
|---|---|
| යැංසි | 6301 |
| හොවැංහෝ (කහ) | 5464 |
| මීකොං | 4909 |
| ලීනා | 4400 |
| යෙනිසි | 4088 |
| ඕබි | 3650 |
| ඉන්දු | 2900 |
| බ්‍රහ්මපුත්‍ර | 2897 |
| ගංගා | 2510 |

ආසියාවේ ගංගාවන්ගේ දිග ලංකාවේ දිග සහ පළල සමග සසඳා බලන්න.



1.2 සිතියම - ශ්‍රී ලංකාවේ විශාලත්වය

ඉතා විශාල විල් කිහිපයක් ද ආසියානු ප්‍රදේශයේ දක්නට ඇති අතර බයිකල් විල සහ බොල්කැෂ් විල ඉන් ප්‍රධාන වේ. බයිකල් විල ලෝකයේ ගැඹුරුතම මිරිදිය විල ලෙස සැලකේ.

## ක්‍රියාකාරකම්

1. ආසියා මහාද්වීපයේ පිහිටි ප්‍රධාන කඳු පද්ධති හතරක් සඳහන් කරන්න.
2. හිමාලය කඳු පද්ධතිය තුළ පිහිටි ඉතා උස් කඳු ශිඛර පහක් ඒවායේ උස සමග ලියා දක්වන්න.
3. ආසියා මහාද්වීපයේ පිහිටි විශාල ගංගා ඒවා ගලා බසින සාගරයේ හෝ මුහුදේ නම සමග ලියන්න.
4. ආසියා මහාද්වීපයේ පිහිටි විශාල සානු දෙකක් තැනිතලා බිමක් සහ විල් දෙකක් නම් කරන්න.

## පැවරුම

ඔබ ඉහත සඳහන් කළ සියලු ම භූ ලක්ෂණ ආසියා සිතියමක ලකුණු කර නම් කරන්න.

## දේශගුණය

සමකයේ සිට උත්තර ධ්‍රැවය සහ දක්ෂිණ ධ්‍රැවය දක්වා උෂ්ණත්ව ව්‍යාප්තියේ පවතින වෙනස්කම් අනුව පෘථිවිය ප්‍රධාන දේශගුණික කලාප තුනකට බෙදා දැක්වේ.

- නිවර්තන කලාපය (උණුසුම් දේශගුණ)
- සෞම්‍ය කලාපය (සෞම්‍ය දේශගුණ)
- ශීත කලාපය (ශීත දේශගුණ) (1.3 සිතියම බලන්න)

ආසියා මහාද්වීපය සමකයේ සිට උත්තර ධ්‍රැවය දක්වා ම පැතිරී තිබෙන බැවින් මෙම දේශගුණික කලාප තුනට ම අයත් ප්‍රදේශ දක්නට ලැබේ.

- නිවර්තන කලාපය (උණුසුම් දේශගුණ)

අවුරුද්ද මුළුල්ලේ ම ඉතා ඉහළ උෂ්ණත්වයක් පවතී. සාමාන්‍ය උෂ්ණත්වය $18^0$Cකට වැඩි ය. මේ නිසා උෂ්ණ දේශගුණ තත්වයන් දක්නට ඇත.

- සෞම්‍ය කලාපය (සෞම්‍ය දේශගුණ)

නිවර්තන කලාපයට වඩා සාමාන්‍ය උෂ්ණත්වය අඩු ය. වර්ෂය පුරා කාලයෙන් කාලයට උෂ්ණත්වය අඩු වැඩි වීම නිසා සෘතු භේදය පවතී. එනම් පැහැදිලි උණුසුම් සෘතුවක් සහ ශීත සෘතුවක් මෙම කලාපයේ දක්නට ලැබේ.

- ශීත කලාපය (ශීත දේශගුණ)

උෂ්ණත්වය ඉතා පහළ මට්ටමක පැවතීම නිසා වසරේ වැඩි කාලයක් තුළ හිම පතනය සහ හිමෙන් වැසී තිබීම මෙම කලාපය තුළ දක්නට ලැබෙන ප්‍රධාන ලක්ෂණ වේ.




**1.3 සිතියම - ලෝකයේ ප්‍රධාන දේශගුණික කලාප ව්‍යාප්තිය**

මෙම දේශගුණ කලාප තුන තුළ වර්ෂාපතනයේ වෙනස්කම්, මෝසම් සුළං බලපෑම, සාගරික බලපෑම, මහාද්වීපික පිහිටීම, කඳු පද්ධතිවල පිහිටීම, මුහුදු මට්ටමේ සිට උස වැනි සාධකවල බලපෑම නිසා එකිනෙකට වෙනස් ලක්ෂණවලින් යුතු උපදේශගුණ වර්ග ගණනාවක් දක්නට ඇත.

පහත වගුවේ එම දේශගුණ වර්ග සහ ඒවා පැතිරී පවතින ප්‍රදේශ දැක්වේ.

**ආසියා මහාද්වීපයේ දක්නට ලැබෙන දේශගුණ වර්ග**

| දේශගුණික කලාපය | දේශගුණ වර්ග | පැතිරී පවතින රටවල්/ ප්‍රදේශ |
|---|---|---|
| නිවර්තන | නිවර්තන වර්ෂා දේශගුණය | ජාවා, සුමාත්‍රා දූපත් |
| | නිවර්තන මෝසම් දේශගුණය | ඉන්දියාව, ශ්‍රී ලංකාව, මියැන්මාර් |
| | නිවර්තන සැවනා දේශගුණය | උතුරු ඉන්දියාවේ ඊසානදිග කොටස, බංග්ලාදේශය |
| | උෂ්ණ කාන්තාර දේශගුණය | ඉන්දියාව, තාර් කාන්තාරය මැදපෙරදිග රටවල් |
| සෞම්‍ය | උණුසුම් සෞම්‍ය දේශගුණය | මධ්‍යධරණී මුහුද අවට ප්‍රදේශ |
| | තෙත් සෞම්‍ය දේශගුණය | නැගෙනහිර චීනය, ජපන් දූපත් |
| ශීත | ධ්‍රැව සහ තුන්ද්‍රා දේශගුණය | සයිබීරියානු කලාපය සහ ආසියාවේ උතුරු කොටස් |
| | කඳුකර දේශගුණය | හිමාලය කඳු ආශ්‍රිත ප්‍රදේශ |

**ඉතාමත් අන්තගාමී දේශගුණ තත්වයන් පවතින ස්ථාන ද ආසියාවේ පැවතීම විශේෂත්වයකි.**

- ආසියාවේ ඉතා අඩු ම උෂ්ණත්වයක් වාර්තා වන වර්කොයැන්ස්ක් (Verkhoyansk) රුසියාවේ පිහිටි කුඩා නගරයක් වන අතර එහි උෂ්ණත්වය ඇතැම් දිනවල $-50^{0}C$ක් පමණ දක්වා අඩු වන බව වාර්තා වේ.
- ආසියාවේ ඉහළ ම උෂ්ණත්වයක් වාර්තා වන්නේ පාකිස්ථානයේ ජකෝබාබාද් නගරයෙන් (Jacobabad) වන අතර එය $55^{0}C$ක් පමණ වෙයි.

## වෘක්ෂලතා හා වන ජීවීන්

වර්ෂාපතනයේ වෙනස්කම් සහ උෂ්ණත්ව වෙනස්කම් අනුව ස්වාභාවික වෘක්ෂලතා ද ප්‍රාදේශීය වශයෙන් වෙනස් වේ. ඒ අනුව එක් එක් දේශගුණ වර්ගයන්ට අනුව ස්වාභාවික වෘක්ෂලතා සහ වන ජීවීන් ද හැඩගැසී ඇත.

### නිවර්තන කලාපය - නිවර්තන වර්ෂා වනාන්තර

ඉහළ උෂ්ණත්වයක් පවතින සහ වසර පුරා අධික වර්ෂාපතනයක් ලැබෙන ප්‍රදේශවල නිවර්තන සදාහරිත වර්ෂා වනාන්තර දක්නට ඇත. මෙම වනාන්තරවල මැහෝගනි, එබොනි, රෝස්වුඩ්, කළුවර, උණ වර්ග, හඳුන්, ඇකේෂියා වැනි උසින් වැඩි විවිධ ශාක වර්ග දක්නට ඇත. ඒවායේ ශාක, ස්ථර කිහිපයකින් යුක්ත ය. වැල් වර්ග, පෙඳ හා පාසි වර්ග මෙන් ම අපිශාක වර්ග ද එහි බහුල ය. මෙම වනාන්තරවල ශාක වේගයෙන් වර්ධනය වන අතර ජෛව විවිධත්වය අධික ය.

මෙම වැහි වනාන්තරවල වඳුරු විශේෂ, උරග වර්ග, සර්ප විශේෂ, මත්ස්‍ය විශේෂ සහ කටුසු විශේෂ මෙන් ම කොටියා. දිවියා, වලසා, ඌරා, නරියා, මුවා, ගෝනා වැනි සිවුපා විශේෂ ද බහුල ය.



1.5 රූපය - නිවර්තන වර්ෂා වනාන්තර සහ වන ජීවීන්

## සෞම්‍ය කලාපය - පතනශීල වනාන්තර

වසරේ උණුසුම් ග්‍රීෂ්මහාන සෘතුවක් පැවතීමත් ශීත සෘතුවක් පැවතීමත් යන දේශගුණ තත්වයන්ට අනුරූප වූ සෞම්‍ය කලාපයේ පතනශීල වනාන්තර දක්නට ලැබේ. වාර්ෂික ව පත්‍ර හැලීම මෙම වනාන්තරවල විශේෂ ලක්ෂණය වේ. ඕක්, මල්බෙරි, චෙස්නට්, පයින්, යුකැලිප්ටස්, ඩග්ලස්ෆර් මෙම වනාන්තරවල විශේෂිත ශාක වර්ගයන් ය. වෘකයා, වලසා, ගෝනා, මුවා, ඇන්ටිලොප් වැනි වන ජීවීන් මෙහි දක්නට ඇත.



1.6 රූපය - සෞම්‍ය කලාපීය වනාන්තර සහ වනජීවීන්

## ශීත කලාපය - කේතුධර වනාන්තර

ටයිගා හා තුන්ද්‍රා දේශගුණ සහිත මෙම කලාපයේ දිගු ශීත සෘතුවක් පැවතීම විශේෂ ලක්ෂණය වේ. කේතුධර වනාන්තර මෙම කලාපයේ පිහිටා ඇත. හිම පතනයට ඔරොත්තු දෙන සේ සකස් වූ මේ කේතුධර වනාන්තරවල ශාක කේතු රූපාකාර හැඩයෙන් යුක්ත ය. එසේ ම ශාක පත්‍ර ඉඳිකටු තුඩු වැනි හැඩ සහිත ය. පයින් වර්ග, ස්ප්‍රෘස්, ෆර්, ඕක්, ලාච් වැනි ශාක විශේෂ මෙහි දක්නට ඇත.

පිනිමුවා, හිම වලසා, හිම නරියා, හිම බල්ලා, සේබල්, මින්ක් වැනි සත්ව විශේෂ ද මෙහි දක්නට ලැබේ.



1.7 රූපය - ශීත කලාපීය වනාන්තර සහ වනජීවීන්

**ක්‍රියාකාරකම්**

1. ආසියා මහාද්වීපයේ දක්නට ලැබෙන ප්‍රධාන දේශගුණ කලාප තුන සහ එම එක් එක් කලාපයේ දක්නට ඇති දේශගුණ වර්ග වගුගත කරන්න.
2. එම එක් එක් දේශගුණ කලාපවල ව්‍යාප්ත ස්වාභාවික වෘක්ෂලතා ප්‍රභේද මොනවා දැයි සඳහන් කරන්න.
3. ඔබ ඉහත සඳහන් කළ එක් එක් ස්වාභාවික වෘක්ෂලතා ප්‍රභේදය තුළ වැඩෙන වෘක්ෂලතා විශේෂ සහ සත්ව විශේෂ නම් කරන්න.

# ආසියාවේ මානුෂ භූ දර්ශනය

## පැරණි මානව ශිෂ්ටාචාර

මානව ඉතිහාසය පිළිබඳ ව දැනට සොයාගෙන ඇති තොරතුරු අනුව ලෝකයේ ගංගා නිම්න ආශ්‍රිත ව ඉපැරණි ශිෂ්ටාචාර කිහිපයක් බිහි වී ඇත. යුප්‍රටීස් ටයිග්‍රීස් නිම්නය,

ඉන්දු නිම්නය, හොවැංහෝ නිම්නය සහ නයිල් නිම්නය ඉන් ප්‍රධාන වේ. මේවා අතරින් නයිල් නිම්නය හැරුණු විට අනෙක් ගංගා නිම්න තුන ම ආසියාවේ පිහිටා තිබීම විශේෂත්වයකි.

ඉන්දු ගංගාව වර්තමාන පාකිස්ථානයට හා ඉන්දියාවට අයත් ප්‍රදේශ හරහා ගලා බැස කරච්චි නගරය අසලින් අරාබි මුහුදට වැටේ. මෙම ගංගා නිම්නය ආශ්‍රිත ව මොහෙන්ජොදාරෝ සහ හරප්පා යන ඉපැරණි නගර දෙක මුල් කරගත් දියුණු නාගරික ශිෂ්ටාචාරයක් බිහි වූයේ ය.

චීනය හරහා ගලා බසින කහ ගඟ හෙවත් හොවැංහෝ ගංගා නිම්නයේ අන්යාන් නගරය මුල් කොට ගත් දියුණු නාගරික ශිෂ්ටාචාරයක් බිහි විය.

අනෙක් ආසියානු ගංගා නිම්න ශිෂ්ටාචාරය වන්නේ මෙසොපොටේමියානු ශිෂ්ටාචාරය යි. වර්තමාන ඉරාකය හරහා ගලා බසින යුප්‍රටීස් සහ ටයිග්‍රිස් දෙගංමැදි ප්‍රදේශයේ මෙම ශිෂ්ටාචාරය වර්ධනය වී තිබූ බවට සාක්ෂ්‍ය තිබේ.

ක්‍රමවත් නගර නිර්මාණය, ගොඩනැගිලි හා ප්‍රතිමා නිර්මාණය, කෘෂිකර්මය, කලාත්මක භාණ්ඩ නිෂ්පාදනය මෙම ශිෂ්ටාචාරවල දියුණු වී පැවති විශේෂ ලක්ෂණ වේ.

## මානව වර්ග

විවිධ දේශගුණ තත්වයන්ට විශේෂ වූ මානව වර්ග ද ජන වර්ග රැසක් ද ආසියානු ප්‍රදේශයේ වාසය කරනු දක්නට ලැබේ. ප්‍රධාන වශයෙන් ආසියානු කලාපයේ ජීවත් වන මානව වර්ග දෙකක් දක්නට ලැබෙන අතර ඔවුන් ජීවත් වන රටවල් පහත දැක්වේ.





**මොන්ගොලොයිඩ්**

- චීනය
- ජපානය
- මලයාසියාව
- කොරියාව
- සිංගප්පූරුව

**කොකසොයිඩ්**

- ඉන්දියාව
- ඇෆ්ගනිස්ථානය
- පාකිස්ථානය
- ශ්‍රී ලංකාව
- අරාබි රටවල්





## ජන ව්‍යාප්තිය

ආසියාවේ වර්තමාන ජන සංඛ්‍යාව මිලියන 4460ක් පමණ වේ. (***worldpopulationreview.com/continents/asia-population*** 2017.02.01) ඉන් අඩකටත් වැඩි ප්‍රමාණයක් සිටිනුයේ චීනය සහ ඉන්දියාව යන රටවල් දෙකෙහි ය.

මෙම ජන සංඛ්‍යාව කලාපීය වශයෙන් මෙන් ම රටවල් අතර ද අසමාන ව ව්‍යාප්ත ව ඇත. මෙම අසම ව්‍යාප්තිය කෙරෙහි ප්‍රධාන වශයෙන් ම භෞතික සාධක බලපා තිබේ. භූ විෂමතාව, දේශගුණය, ජලවහනය සහ පස එවැනි භෞතික සාධක කිහිපයකි.

ආසියාවේ ජන ව්‍යාප්තිය සලකා බලන විට දකුණු ආසියාව, අග්නිදිග ආසියාව සහ නැගෙනහිර ආසියාවේ ගංගා නිම්න ආශ්‍රිත ව වර්ග කිලෝ මීටරයට 500ට වැඩි අධික ජන ඝනත්වයක් දක්නට ලැබේ.

- උතුරු ඉන්දියාවේ ඉන්දු ගංගා තැන්න ආශ්‍රිත කලාපය
- මියැන්මාරයේ ඉරවඩි ගංගා නිම්නය ආශ්‍රිත කලාපය
- චීනයේ හොවැංහෝ නිම්න ආශ්‍රිත කලාපය මේ සඳහා උදාහරණ වේ.

මධ්‍යම ආසියාව, මොංගෝලියාව, උතුරු දිග තැනිබිම් ප්‍රදේශ, ගෝබි සහ ථාර් කාන්තාර ප්‍රදේශ ආසියාවේ ජන හීන ප්‍රදේශ වේ. (1.4 සිතියම)

2017 වන විට ආසියාවේ ජනාධික රටවල් 10

- චීනය මිලියන 1370
- ඉන්දියාව මිලියන 1299
- ඉන්දුනීසියාව මිලියන 255
- පාකිස්ථානය මිලියන 192
- බංග්ලාදේශය මිලියන 159
- ජපානය මිලියන 127
- පිලිපීනය මිලියන 103
- වියට්නාමය මිලියන 92
- ඉරානය මිලියන 79
- තුර්කිය මිලියන 78

2017 වන විට අඩු ජන සංඛ්‍යාවක් වෙසෙන රටවල් 10

- මාලදිවයින් 345,000
- බෲනායි 421,000
- මැකාවෝ 641,000
- භූතානය 760,000
- ටිමෝර් මිලියන 1.24
- බහරේන් මිලියන 1.78
- කටාර් මිලියන 2.11
- ආමේනියා මිලියන 3
- මොන්ගෝලියාව මිලියන 3.02
- ජෝර්ජියාව මිලියන 3.73

මූලාශ්‍රය : ***worldpopulationreview.com/continents/asia-population - 2017.02.01***




**1.4 සිතියම - ආසියාවේ ජන ව්‍යාප්තිය**

### ක්‍රියාකාරකම්

1. ආසියා මහාද්වීපයේ ජනාධික කලාප තුනක් සහ ජන හීන කලාප හතරක් නම් කරන්න.
2. ආසියාවේ අසම ජන ව්‍යාප්තිය කෙරෙහි බලපා ඇති සාධක හතරක් සඳහන් කරන්න.
3. ආසියාවේ ජනාධික රටවල් පහක්, ඉතා අඩු ජන සංඛ්‍යාවක් වෙසෙන රටවල් පහක් සහ ජනාධික නගර පහක් නම් කරන්න.
4. ඔබ ඉහත සඳහන් කළ ආසියාවේ රටවල් සහ නගර ලෝක ආකෘති සිතියමක ලකුණු කර නම් කරන්න.

## ආර්ථික ක්‍රියාකාරකම්

ආසියානු කලාපයේ රටවල විවිධ ආර්ථික ක්‍රියාකාරකම් දක්නට ලැබේ. කෘෂිකාර්මික, කාර්මික සහ සේවා ආර්ථිකයන් සහිත රටවල් මෙම කලාපය තුළ දක්නට ඇත.

මෙම එක් එක් අංශ සඳහා වැදගත් වන රටවල් තුනක් පිළිබඳ ව මෙහි දී සලකා බලනු ලැබේ.

- කෘෂිකාර්මික - පාකිස්ථානය
- කාර්මික - ජපානය
- සේවා - ඩුබායි

## ආසියාවේ කෘෂිකාර්මික රටක් ලෙස පාකිස්ථානය

කෘෂිකර්මය පාකිස්ථාන ආර්ථිකයේ ප්‍රධාන අංශය වේ. පාකිස්ථානයේ දළ දේශීය නිෂ්පාදිතයෙන් 25.9%ක් සැපයෙන්නේ කෘෂිකාර්මික අංශයෙනි. එරට මුළු ශ්‍රමිකයන් සංඛ්‍යාවෙන් 43%ක් නිරත වන්නේ කෘෂිකාර්මික කටයුතුවල ය. රටෙහි මුළු භූමියෙන් 25%ක් පමණ කෘෂිකාර්මික කටයුතු සඳහා භාවිතයට ගෙන ඇත.

අමු කපු (Raw cotton) සපයන ලෝකයේ ප්‍රමුඛ රටක් ලෙස පාකිස්ථානය වැදගත් වේ. එරට අනෙකුත් කෘෂි නිෂ්පාදන අතර තිරිඟු සහල්, උක්, අඹ, චික් පී, එළවළු, කිරි හා කිරි ආශ්‍රිත නිෂ්පාදන, ගව මස්, එළු මස් සහ බිත්තර ප්‍රධාන වෙයි.

පාකිස්ථානය ලෝකයේ විශාලතම වාරිමාර්ග පද්ධති සහිත රටක් ලෙස ද වැදගත් ය. ඉන්දු ගංගා නිම්න වාරි පද්ධතිය මගින් එරට හෙක්ටයාර් මිලියන 16ක පමණ කෘෂි බිම් ප්‍රමාණයකට ජලය සැපයේ.



**1.8 රූපය - පාකිස්ථානයේ කෘෂිකාර්මික කටයුතු**

පාකිස්ථානයේ ප්‍රධාන කෘෂිකාර්මික වගා කන්න හෙවත් වගා සෘතු දෙකකි. එම සෘතු දෙක කාරිෆ් (Khariff) සහ රාබි (Rabi) යනුවෙන් හැඳින්වේ.

ලෝක ආහාර හා කෘෂිකර්ම සංවිධානයේ තරාගත කිරීම අනුව කෘෂි නිෂ්පාදන ලෝක වෙළෙඳපොළට සැපයීම අතින් පාකිස්ථානය පහත සඳහන් ස්ථාන හිමි කරගෙන ඇත.

**1.3 වගුව - පාකිස්ථානයේ ප්‍රධාන වගා කන්න දෙක, කාල සීමාව සහ වගා කරන බෝග වර්ග**

| වගා කන්නය | බලපැවැත්වෙන කාලසීමාව | වගා කරන බෝග |
|---|---|---|
| කාරිෆ් (Khariff) | අප්‍රේල් සිට ඔක්තෝබර් දක්වා | කපු, වී, මිලට්, මේස් සහ උක් |
| රාබි (Rabi) | නොවැම්බර් සිට මාර්තු දක්වා | තිරිඟු, බාර්ලි, ඕට්ස් |

**1.4 වගුව - කෘෂි නිෂ්පාදන ලෝක වෙළෙඳපොළට සැපයීම අතින් පාකිස්ථානය හිමිකරගෙන ඇති ස්ථානය**

| නිෂ්පාදන වර්ගය | ලෝක වෙළෙඳාම තුළ හිමි වන ස්ථානය | නිෂ්පාදන වර්ගය | ලෝක වෙළෙඳාම තුළ හිමි වන ස්ථානය |
|---|---|---|---|
| චික් පී (Chick pea) | 3 | කිරි නිෂ්පාදන | 5 |
| ඇෆ්රිකට් | 6 | ඩේට් පාම් (Date palm) | 5 |
| කපු | 4 | ලූනු (Onion) | 7 |
| උක් | 5 | තිරිඟු | 7 |
| සහල් | 4 | දොඩම් වර්ග | 6 |
| අඹ | 4 | | |

මූලාශ්‍රය : *https://en.wikipedia.org/wiki/Agriculture_in_Pakistan#Rankings 21/2/2017*

මේ අනුව ලොව ප්‍රධාන කෘෂි නිෂ්පාදන අපනයනකරුවකු ලෙස පාකිස්ථානය වැදගත් තැනක් හිමි කර ගෙන ඇත.

## කාර්මික රටක් ලෙස ජපානය

ජපානය ආසියාවේ මෙන් ම ලෝකයේ ප්‍රධාන කාර්මික රටකි. ඒක පුද්ගල දළ ජාතික නිෂ්පාදිතය අනුව ලෝකයේ තුන් වන විශාලතම ආර්ථිකය හිමි රට ජපානය ලෙස සැලකේ. ජපානයේ දළ ජාතික නිෂ්පාදිතයෙන් 27.5%ක් කර්මාන්ත අංශය විසින් හිමි කර ගනී. එරට ශ්‍රම බලකායෙන් 26.2%ක් නිරත වන්නේ කාර්මික අංශයේ රැකියාවන්හි ය. සම්පූර්ණයෙන් ම අමුද්‍රව්‍ය සහ ඛනිජ තෙල් ආනයනය මත කර්මාන්ත පවත්වාගෙන යාම ද ජපානයේ විශේෂත්වයකි.

එරට නිෂ්පාදන කර්මාන්ත අතර මෝටර් රථ, විදුලි උපකරණ, යන්ත්‍රෝපකරණ, යකඩ සහ වානේ, නැව්, රසායන ද්‍රව්‍ය, රෙදිපිළි, පරිගණක හා පරිගණක උපාංග, රොබෝ තාක්ෂණය, ඖෂධ සහ සැකසූ ආහාර නිෂ්පාදනය වැදගත් වේ.

මෝටර් රථ නිෂ්පාදනය ජපානයේ ප්‍රධානතම කර්මාන්ත ක්ෂේත්‍රයකි. ලෝකයේ විශාලතම මෝටර් රථ නිෂ්පාදකයන් දස දෙනා අතරින් ජපානයට 6 වන ස්ථානය හිමි වේ. උසස් තත්වය, කල්පැවැත්ම, ඉන්ධන කාර්යක්ෂමතාව, සුඛෝපභෝගී බව සහ අතිනවීන උපාංගවලින් සමන්විත වීම වැනි ලක්ෂණ අනුව ජපානයේ මෝටර් රථ ලෝකයේ ඉදිරියෙන් ම සිටී. ජපානයේ ප්‍රධාන මෝටර් රථ නිෂ්පාදන සමාගම් ගණනාවක් තිබෙන අතර ඉන් ප්‍රධාන ඒවා කිහිපයක් පහතින් දැක්වේ.

- ටොයෝටා
- නිසාන්
- සුසුකි
- මැස්ඩා
- ඩයිහට්සු
- මිට්ෂුබිසි
- හොණ්ඩා
- ඉසුසු
- සුබාරු
- හීනෝ



1.9 රූපය - ජපානයේ කාර්මික කටයුතු

හොණ්ඩා, යමහා, සුසුකි සහ කවසාකි යන ජපාන සමාගම් ලොව ප්‍රධාන මෝටර් සයිකල් නිෂ්පාදන සමාගම් ලෙස ඉදිරියෙන් සිටී.

ජපානය විවිධ ඉලෙක්ට්‍රොනික් හා විදුලි උපකරණ නිෂ්පාදන අතින් ද ශීඝ්‍ර දියුණුවක් ලබා ඇති රටකි. එම නිෂ්පාදන සඳහා සෝනි, මිට්සුබිෂි, ඉලෙක්ට්‍රික්, පැනසොනික්, කැනන්, ෆුජිට්සු, නිකොන්, යමහා, ෂාප්, නෙක්, හිටාචි, කැෂියෝ වැනි සමාගම් ප්‍රසිද්ධ ය.

ජපානයේ පෙට්‍රෝ රසායන කර්මාන්ත ලෙස ප්ලාස්ටික්, පොලියෙස්ටර් (polystyrene), පොලිප්‍රොප්ලීන් (polypropylene) නිෂ්පාදන ප්‍රධාන වේ. පරිගණක සහ පරිගණක උපාංග

නිෂ්පාදන කර්මාන්තය ද ජපානයේ ඉදිරියෙන් ම සිටින නිෂ්පාදන කර්මාන්ත ක්ෂේත්‍රයකි. එහි දී නෙක්, ෆුජිට්සු, සීකෝ, එප්සන්, අයි. බී. එම්. ජපැන් යන සමාගම් වැදගත් වේ.

වර්තමානයේ ලොව ඉතා වැදගත් ක්ෂේත්‍රයක් බවට පත් ව ඇති ජෛව තාක්ෂණ කටයුතු සඳහා ද ජපානය දියුණුවක් ලබා ඇත. කෘෂිකර්මය, සත්ව පාලනය, ඖෂධ නිෂ්පාදනය, රසායන ද්‍රව්‍ය කර්මාන්තය සහ ආහාර සැකසීම වැනි ක්ෂේත්‍රවල දී ජෛව තාක්ෂණය උපයෝගී කරගැනේ.

ලෝකයේ පරමාණුක බලශක්තිය බහුල ලෙස භාවිත කරන රටවල් අතර ද ජපානය ඉදිරියෙන් සිටී.

## සේවා මධ්‍යස්ථානයක් ලෙස ඩුබායි

එක්සත් අරාබි එමීර් රාජ්‍යය, එමිරේට්ස් ලෙස හඳුන්වන රාජ්‍ය හතකින් සමන්විත ය. ඩුබායි ඉන් එක් කුඩා එමිරේට් රාජ්‍යයකි.

වර්ග කිලෝමීටර් 3885ක් තරම් කුඩා රාජ්‍යයක් වන ඩුබායිහි ජන සංඛ්‍යාව 2,502,715කි. ජන ඝනත්වය වර්ග කිලෝමීටරයට 644.2කි. ඒ අනුව ඩුබායි ඉතා ජනාකීර්ණ රටකි. ගෝලීය නගරයක් ලෙස ද හඳුන්වන ඩුබායි මැදපෙරදිග කලාපයේ ප්‍රධාන වාණිජ මධ්‍යස්ථානය ලෙස ද වැදගත් ය.

ඩුබායි ආර්ථිකයේ පදනම වනුයේ පෙට්‍රෝලියම් නිෂ්පාදනය යි. එමගින් උපයන අතිවිශාල ධනය එරට වෙනත් ක්ෂේත්‍රවල ආයෝජනය කර ඇත. ඩුබායිහි භෞතික පරිසරය කෘෂිකාර්මික කටයුතු සඳහා යෝග්‍ය නොවන බැවින් එය සේවා මධ්‍යස්ථානයක් ලෙස දියුණු කර ඇත.

ඩුබායි ආර්ථිකයෙහි ප්‍රධාන අංශ අතර වැඩි ම ප්‍රතිශත වටිනාකම හිමි කරගන්නේ සේවා අංශය යි. එය එරට මුළු දළ දේශීය නිෂ්පාදිතයෙන් 37.2%ක් පමණ වේ. එරට රැකියා නියුක්තිකයන්ගෙන් 33.0%ක් පමණ නිරත වන්නේ සේවා අංශයේ රැකියාවල ය. (Emirates NDB Research – Dubai's Service Sector Overview – 18 March 2015)

ඩුබායි රට විසින් පවත්වාගෙන යන සේවා කර්මාන්ත රැසක් වෙයි.

- ලෝකයේ පෙර - අපර දෙදිග සම්බන්ධ වන ගුවන් ගමන් මධ්‍යස්ථානයක් වීම. ඒ අනුව ලෝකයේ බොහෝ ගුවන් ගමන් මාර්ගවල අතරමැද නැවතුම් හා සේවා මධ්‍යස්ථානයක් ලෙස ඩුබායි වැදගත් වේ.
- නිදහස් වෙළෙඳ වරායක් මෙන් ම මැදපෙරදිග ප්‍රධාන අපනයන මධ්‍යස්ථානය ලෙස ද එරට ජෙබිල් අලි වරාය (Port Jebil Ali) වැදගත් වීම.

- සංචාරක ආකර්ෂණ හා සංචාරක සේවාවන් රැසක් සපයන සේවා මධ්‍යස්ථානයක් වීම.
- ජාත්‍යන්තර සන්නිවේදන සේවා මධ්‍යස්ථානයක් ලෙස ක්‍රියා කිරීම.
  උදාහරණ :- 'CNN, Al Jazeera'
- ක්‍රිකට් සහ ටෙනිස් ක්‍රීඩාවේ ජාත්‍යන්තර මට්ටමේ ක්‍රීඩා තරග සඳහා ක්‍රීඩාංගණ පහසුකම් සපයන ක්‍රීඩා මධ්‍යස්ථානයක් වීම. (Indoor Stadium & Day & Night Cricket Stadium)
- "Dubai Mall" නමින් හැඳින්වෙන ලෝකයේ විශාලතම වෙළෙඳ මධ්‍යස්ථානය පිහිටුවා තිබීම.

**ක්‍රියාකාරකම්**

1. පාකිස්ථානය ආසියාවේ ප්‍රධාන කෘෂිකාර්මික රටක් ලෙස වැදගත් වීමට හේතු හතරක් සඳහන් කරන්න.
2. පාකිස්ථානයේ ප්‍රධාන කෘෂිකාර්මික ඍතු දෙක සඳහන් කර එම එක් එක් ඍතුවේ වගා කෙරෙන බෝග වර්ග මොනවා දැයි ලියා දක්වන්න.
3. පාකිස්ථානයේ ප්‍රධාන කෘෂි අපනයන බෝග වර්ග පහක් නම් කරන්න.
4. ජපානය ආසියාවේ ප්‍රධාන කාර්මික රටක් ලෙස වැදගත් වීමට හේතු හතරක් සඳහන් කරන්න.
5. ජපානයේ ප්‍රධාන කාර්මික නිෂ්පාදන මොනවා දැයි ලියා දක්වන්න.
6. ඩුබායි ආසියාවේ සේවා මධ්‍යස්ථානයක් ලෙස වැදගත් වන්නේ කුමන හේතු නිසා දැයි ලියා දක්වන්න.

## ආශ්‍රිත ග්‍රන්ථ සහ මූලාශ්‍ර


- ඉතිහාසය, 6 ශ්‍රේණිය (1996), අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව.
- භූගෝල විද්‍යාව, 10 ශ්‍රේණිය (2011), අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව.
- භෞතික භූගෝල විද්‍යාව, අ. පො. ස. උසස් පෙළ (2015), අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව.
- භූගෝල විද්‍යා තොරතුරු සඟරාව (1996 - ජනවාරි - 6 කලාපය), ශ්‍රී ලංකා භූගෝල විද්‍යාඥයන්ගේ සංගමය.
- ගුණසේන පිලිප්ස් ලෝක සිතියම් පොත (2006), ඇම්. ඩී. ගුණසේන සහ සමාගම, කොළඹ.
- https://en.wikipedia.org/wiki/Asia#
- http://www.worldatlas.com
- http://www.worldpopulationreview.com

## පාරිභාෂික වචන

| | | |
|---|---|---|
| • සාපේක්ෂ පිහිටීම | - Relative location | - சார்பமைவு |
| • නිරපේක්ෂ පිහිටීම | - Absolute location | - தனியமைவு |
| • භූගෝලීය ඛණ්ඩාංක | - Geographical coordinates | - புவியியல் ஆட்கூறு |
| • ජෛව විවිධත්වය | - Bio diversity | - உயிரினப் பல்வகைமை |
| • ජන ඝනත්වය | - Population density | - சனத்தொகை அடர்த்தி |
| • නිවර්තන කලාපය | - Tropical zone | - இடைவெப்ப வலயம் |
| • සෞම්‍ය කලාපය | - Temperate zone | - வெப்பவலயம் |
| • ධ්‍රැව කලාපය | - Polar zone | - முனைவுவலயம் |
| • නිවර්තන වර්ෂා දේශගුණය | - Tropical rainy climate | - அயன மழைக்காடு |
| • නිවර්තන මෝසම් දේශගුණය | -Tropical monsoon climate | - அயன மழைக் காலநிலை |
| • නිවර්තන සැවනා දේශගුණය | -Tropical savanna climate | - அயன பருவக்காற்று காலநிலை |
| • උෂ්ණ කාන්තාර දේශගුණය | - Hot desert climate | - வெப்பப் பாலைவன காலநிலை |
| • උණුසුම් සෞම්‍ය දේශගුණය | - Warm temperate climate | - இளஞ்சூடான இடை வெப்ப காலநிலை |
| • තෙත් සෞම්‍ය දේශගුණය | - Wet temperate climate | - இடைவெப்ப ஈரக் காலநிலை |
| • ධ්‍රැව හා තුන්ද්‍රා දේශගුණය | - Polar and tundra climate | - முனைவு மற்றும் தூந்திரா காலநிலை |
| • උස්බිම් දේශගුණය | - Highland climate | - மலைப்பிரதேச காலநிலை |
| • නිවර්තන වර්ෂා වනාන්තර | - Tropical rain forests | - அயன மழைக் காடுகள் |
| • පතනශීල වනාන්තර | - Deciduous forestes | - இலையுதிர் காடுகள் |
| • කේතුධර වනාන්තර | - Coniferous forests | - ஊசியிலைக் காடுகள் |
| • පෙට්‍රෝ රසායන කර්මාන්ත | - Petro chemical industry | - பெற்றோலிய இரசாயனக் கைத்தொழில் |
| • දළ දේශීය නිෂ්පාදිතය | - Gross Domestic Product | - மொத்த தேசிய உற்பத்தி |
| • සංචාරක ආකර්ෂණ | - Tourist attractions | - சுற்றுலா கவர்ச்சிகள் |

# 2

# ශ්‍රී ලංකාවේ භූ දර්ශනය



භෞතික භූ දර්ශනයේ සංරචක ලෙස භූ විෂමතාව, ජලවහනය, දේශගුණය හා වෘක්ෂලතා ප්‍රමුඛ වේ. මෙම භෞතික පදනම මත මිනිසා සහ ඔහුගේ ක්‍රියාකාරකම් මගින් මානුෂ භූ දර්ශනය නිර්මාණය වේ. ශ්‍රී ලංකාවේ භෞතික භූ දර්ශනය හා මානුෂ භූ දර්ශනය අතර ඇති සම්බන්ධතාව අධ්‍යයනය කිරීම මෙම ඒකකයෙන් බලාපොරොත්තු වේ.

# භෞතික භූ දර්ශනය

ශ්‍රී ලංකාව ඉන්දියන් සාගරයේ පිහිටි සුන්දර භූ දර්ශනයක් සහිත දිවයිනකි. කඳු හෙල්, තැනිතලා, ගංගා, දිය ඇලි, මුහුදු වෙරළ හා විවිධ වෘක්ෂලතාවලින් ද එම භෞතික පරිසරය මත මිනිසා විසින් නිර්මාණය කර ඇති ගොඩනැගිලි, මහාමාර්ග, වැව් අමුණු, කම්හල් හා වගා බිම් වැනි මානුෂ ක්‍රියාකාරකම්වලින් ද එය සමන්විත ය.

## භූ විෂමතාව

භූ ඉතිහාසයේ දීර්ඝ කාලයක් තිස්සේ ක්‍රියාත්මක වූ භූ කාරක ක්‍රියාවලීන්ගේ ප්‍රතිඵලයක් වශයෙන් ශ්‍රී ලංකා භූමිය සංකීර්ණ වූ විෂමතා ලක්ෂණවලින් යුක්ත වී තිබේ. ඒ අතරින් කැපී පෙනෙන ලක්ෂණ වන්නේ රට අභ්‍යන්තරයේ පිහිටි මධ්‍යම කඳුකරය හා එහි සිට වෙරළ දක්වා විහිදෙන තැනිතලාව යි. භූ විෂමතාව පදනම් කරගෙන දිවයින ප්‍රධාන කලාප තුනකට බෙදිය හැකි ය. 2.1 සිතියම අධ්‍යයනය කර එය හඳුනාගන්න.

01.
වෙරළබඩ තැනිතලාව
(මුහුදු මට්ටමේ සිට මීටර් 30 දක්වා)

02.
අභ්‍යන්තර තැනිතලාව
(මීටර් 30 සිට මීටර් 300 දක්වා)

03.
මධ්‍යම කඳුකරය (මීටර් 300ට වැඩි)



2.1 සිතියම - භූ විෂමතා කලාප

## වෙරළබඩ තැනිතලාව

මුහුදු මට්ටමේ සිට මීටර් 30ක් උස සමෝච්ච රේඛාව දක්වා විහිදෙන ප්‍රදේශය වෙරළබඩ තැනිතලාව වේ. එය උතුරේ දී කිලෝමීටර් 32ක් පමණ පළල් ව විහිදේ. දකුණු ප්‍රදේශයට වන විට ඇතැම් ස්ථානවල කිලෝමීටර් 3ක් පමණ පටු වේ. වෙරළබඩ තැන්න විවිධ විෂමතා ලක්ෂණවලින් යුක්ත ය. ගංගා නිම්නවල පහළ කොටස් හා මෝය ප්‍රදේශ මේ කලාපයට අයත් ය. තැනිතලා බිම්, තුඩු, කලපු හා වැලිතලා වැනි ලක්ෂණවලින් මෙන් ම ගංගාවල වෘද්ධ අවස්ථාවේ ලක්ෂණ වන හැඩපලු ගංගා, වගුරු බිම්, ඩෙල්ටා ආදියෙන් ද මෙම කලාපය සමන්විත ය.



2.1 රූපය - වෙරළබඩ භූ දර්ශනය

**වගුරු බිම් -** ගංගා මෝය ප්‍රදේශ වැලි තැන්පත් වී ඇහිරීම නිසාත්, ගංගා පිටාර ගැලීම හේතු කොටගෙන පහත් බිම්වල ජලය රැඳීම නිසාත් වගුරු බිම් නිර්මාණය වේ. මුතුරාජවෙල, බූන්දල, කලමැටිය, සෝමාවතිය, ආනවිලුන්දාව සහ කිරල කැලේ මේවාට නිදසුන් වේ.

**බොකු -** මුහුදට විවෘත වූ කොටස විශාල වූ, ගොඩබිම දෙසට නෙරාගිය කරදිය පිරුණු මුහුදු ප්‍රදේශ බොකු ලෙස හැඳින්වේ. මෙවැනි බොකු රාශියක් දිවයින වටා පිහිටා ඇත. කොඩ්ඩියාර් බොක්ක, ආරුගම් බොක්ක, වැලිගම බොක්ක ඉන් කිහිපයකි.

**කලපු** - වැලිපරයක් සහිත, පටු විවරයකින් මුහුද හා සම්බන්ධ වන කිවුල් දිය පිරුණු, නොගැඹුරු, දිගැටි ජලාශ කලපු ලෙස හැඳින්වේ. මීගමුව කලපුව, යාපන කලපුව, පුත්තලම කලපුව, හලාවත කලපුව හා මඩකලපුව නිදසුන් වේ.

**තුඩුව** - මුහුද දෙසට නෙරාගිය ප්‍රතිරෝධක පාෂාණ සහිත ගොඩබිම් ප්‍රදේශයක් තුඩුව ලෙස හැඳින්වේ. දෙවුන්දර තුඩුව, ඟවුල් තුඩුව, සංගමන්කන්ද තුඩුව, පේදුරු තුඩුව නිදසුන් වේ.

**දූපත්** - සම්පූර්ණයෙන් ම ජලයෙන් වට වූ කුඩා ගොඩබිම් ප්‍රදේශ දූපත් වේ. මන්නාරම, ඩෙල්ෆ්ට්, නයිනතිව්, කයිට්ස් නිදසුන් ය.

**වෙරළ දඹ** - වෙරළ ආශ්‍රිත ව ඇති ප්‍රතිරෝධක පාෂාණවලින් සමන්විත ප්‍රපාතාකාර බෑවුම් ප්‍රදේශ දඹ ලෙස හැඳින්වේ. ත්‍රිකුණාමලය, කිරින්ද, රූමස්සල වෙරළාශ්‍රිත ව මේවා දක්නට ලැබේ.



**2.2 රූපය - හුම්මානය (කුඩාවැල්ල)**

**ඩෙල්ටා** - ගංමෝය ප්‍රදේශයේ දී ගංගාව අතු ගංගාවලට බෙදෙමින් නිර්මාණය වන ත්‍රිකෝණාකර හැඩයෙන් යුතු බිම් කොටස ඩෙල්ටාව නම් වේ. ගංගාව ඔස්සේ ගලා බසින රොන් මඩ ආදීය මෙම ඩෙල්ටාවේ තැම්පත් වේ. මහවැලි ගඟ, මී ඔය, කලා ඔය වැනි ගංගාවල ඩෙල්ටා දැකිය හැකි ය.

වෙරළාශ්‍රිත ව දකුම්කලු ස්ථාන ද ඇත. හුම්මානය එවැන්නකි. මුහුදු ගුහාවක් තුළින් ශබ්දයක් නගමින් ජලය ඉහළට විදීම නිසා මේ නම ලැබී ඇත. (2.2 රූපය)

## අභ්‍යන්තර තැනිතලාව

අභ්‍යන්තර තැනිතලාව මීටර් 30-300 දක්වා උසින් යුක්ත ය. 2-1 සිතියමෙන් පෙන්නුම් කරන පරිදි අභ්‍යන්තර තැනිතලාව උතුරේ දී පළල් ව විහිදෙන අතර දකුණේ දී පටු ව විහිදේ. සමාන්තර ව විහිදුණු හෙල්වැටි, ශේෂ කඳු, ගංගා, පිටාර තැනි හා තැනිතලා මෙහි බහුල වශයෙන් දැකිය හැකි ය.

| | |
|---|---|
| සමාන්තර හෙල්වැටි | වයඹ ගිනිකොන දිශානුගත ව විහිදෙන රක්වාන කඳු හා බුලුතොට හෙල් |
| ශේෂ කඳු | බාදනයට ලක් ව ඉතිරි වී ඇති තද පාෂාණ කුට්ටි ශේෂ කඳු වේ. කතරගම, මිහින්තලය, සීගිරිය, රිටිගල, ගෝවින්දහෙල ආදිය මීට නිදසුන් වේ. |

අභ්‍යන්තර තැනිතලාව හරහා ගලා බසින ගංගා රාශියකි. ඒ අතර පිහිටි තැනිතලා, පිටාර තැනි හා රැළිබිම් විශේෂ ලක්ෂණ ය.

## මධ්‍යම කඳුකරය

මීටර් 300ට වඩා උසින් යුතු ප්‍රදේශ මෙම කලාපයට අයත් වේ. එය 2-1 සිතියමේ අංක 03න් පෙන්නුම් කෙරේ. අනෙක් විෂමතා කලාපවලට වඩා මධ්‍යම කඳුකරය සංකීර්ණ ලක්ෂණවලින් යුක්ත ය.




2.2 සිතියම - මධ්‍යම කඳුකරය

මධ්‍යම කඳුකරය තුළ උස් මුදුන් සහිත ප්‍රධාන කඳු පන්ති හතරක් දක්නට ලැබේ.

1. සමනල කඳු

2. නමුණුකුල කඳු

3. පිදුරුතලාගල කිරිගල්පොත්ත කඳු

4. නකල්ස් කඳු (2.2 සිතියම)

**සානු -** උස් බිමක පිහිටි සමතලා භූමි සානු ලෙස හැඳින්වේ. මෙවැනි සානු පහක් මධ්‍යම කඳුකරය තුළ දක්නට ලැබේ. (2.2 සිතියම)

- මහනුවර සානුව
- හැටන් සානුව
- වැලිමඩ සානුව
- මහවලතැන්න සානුව
- කොස්ලන්ද සානුව

**කපොලු -** කඳු අතර පිහිටි පහත් බිම් කපොලු ලෙස හැඳින්වේ. හපුතලේ, බලන, ගලගෙදර, ගිනිගත්හේන ඊට නිදසුන් ය.

**දිය ඇලි -** මධ්‍යම කඳුකරයේ සානු විවිධ උසකින් යුක්ත වන අතර ඒ හරහා ගලන ගංගා මොහොර බෑවුම් ඔස්සේ දිය ඇලි සාදමින් ගලා යයි. බඹරකන්ද, දුන්හිඳ, ලක්ෂපාන, දියලුම, රම්බොඩ ඒවාට නිදසුන් ය.

## ජලවහනය

ජල සම්පතින් පොහොසත් ශ්‍රී ලංකාවේ ප්‍රධාන ගංගා නිම්න 103ක් ඇත. මෙම ගංගාවලින් 34ක් ම මධ්‍යම කඳුකරයෙන් පටන්ගෙන විවිධ දිශාවන්ට අරීය රටාවකට අනුව ගලා බසී. මෙම ගංගා අවුරුද්දේ සෑම කාලයක ම ජලයෙන් පෝෂණය වන බැවින් නිත්‍ය ගංගා ලෙස හැඳින්වේ. වියළි කලාපයේ රැළි බිම්වලින් ආරම්භ වන සමහර ගංගා වර්ෂා කාලයේ දී ගලායන අතර වියළි කාලයේ දී සිඳීයයි. ඒවා සෘතුමය ගංගා නමින් හඳුන්වනු ලැබේ.

ශ්‍රී ලංකාවේ ප්‍රධාන ගංගා කිහිපයක තොරතුරු 2.3 සිතියමෙන් හා 2.1 වගුවෙන් දැක්වේ.




**2.3 සිතියම - ශ්‍රී ලංකාවේ ප්‍රධාන ගංගා**

**2.1 වගුව - ශ්‍රී ලංකාවේ ප්‍රධාන ගංගා කිහිපයක තොරතුරු**

| ගංගාව | දිග (කිලෝමීටර්) | පෝෂක ප්‍රදේශය (වර්ග කිලෝමීටර්) |
|---|---|---|
| 01. මහවැලි ගඟ | 335 | 10,327 |
| 02. මල්වතු ඔය | 164 | 3246 |
| 03. කලා ඔය | 148 | 2772 |
| 04. කැලණි ගඟ | 145 | 2278 |
| 05. යාං ඔය | 142 | 1520 |
| 06. දැදුරු ඔය | 142 | 2616 |
| 07. වලවේ ගඟ | 138 | 2442 |
| 08. කළු ගඟ | 129 | 2688 |

ශ්‍රී ලංකාවේ ගංගාවලින් 80%ක් ම වියළි කලාපය හරහා ගලා බසී. දිග ම ගඟ මහවැලි ගඟ වන අතර එය විශාලතම ගංගා ද්‍රෝණිය ද වේ. ශ්‍රී ලංකාවේ භූමි ප්‍රමාණයෙන් 1/6ක් පමණ මෙයට අයත් වේ.

ශ්‍රී ලංකාවේ සමස්ත ජලවහන රටාව අරීය රටාවක් පෙන්නුම් කරයි. එහෙත් ගංගාවලට අතු ගංගා එක් වීමේ දී විවිධ ජලවහන රටා නිර්මාණය වේ. ඒ අතර ශාඛීය හා ජාලාකාර ජලවහන රටා ප්‍රධාන වේ. මහවැලි ගඟ හා සසඳන විට කළු ගඟ, කැලණි ගඟ, ගිං ගඟ වැනි ගංගා ගලායන දුර කෙටි වන අතර ඒවායේ පෝෂක ප්‍රදේශ ද කුඩා වේ. වර්ෂා කාලවල දී මෙම ගංගා ආශ්‍රිත ව ජල ගැලීම් බහුල ව සිදු වේ.

## ක්‍රියාකාරකම්

1. භූ විෂමතාව හා භූ දර්ශනය අතර වෙනස සඳහන් කරන්න.

I. ශ්‍රී ලංකාවේ ප්‍රධාන භූ විෂමතා කලාපවල භූ ලක්ෂණ හා නිදසුන් ඇතුළත් කරමින් පහත සඳහන් වගුව සම්පූර්ණ කරන්න.

| වෙරළබඩ තැන්න | අභ්‍යන්තර තැනිතලාව | මධ්‍යම කඳුකරය |
|---|---|---|
| 1 | 1 | 1 |
| 2 | 2 | 2 |
| 3 | 3 | 3 |
| 4 | 4 | 4 |

II. පහත සඳහන් දෑ ශ්‍රී ලංකා ආකෘති සිතියමක ලකුණු කර නම් කරන්න.

- මහවැලි ගඟ
- කැලණි ගඟ
- මල්වතු ඔය
- වලවේ ගඟ
- මැණික් ගඟ
- පිදුරුතලාගල කඳු
- නකල්ස් කඳු
- සීගිරිය
- කතරගම කන්ද
- ගෝවින්දහෙල
- මඩකලපුව
- පුත්තලම් කලපුව
- යාපන කලපුව
- රිටිගල
- දෙවුන්දර තුඩුව
- පේදුරු තුඩුව
- මන්නාරම් දූපත
- ඩෙල්ෆ්ට්

## දේශගුණය

**දේශගුණය යනු**

**කිසියම් ප්‍රදේශයක කාලගුණික තත්වයන් දීර්ඝ කාලයක් තිස්සේ නිරීක්ෂණය කිරීමෙන් නිගමනය කෙරෙන වායුගෝලීය සාමාන්‍ය තත්වය යි.**

**කාලගුණය යනු**

**කිසියම් ස්ථානයක කෙටි කාලයක් තුළ එම ස්ථානය ආශ්‍රිත ව පවතින වායුගෝලීය තත්වය යි.**



ශ්‍රී ලංකාව සමකාසන්න ව පිහිටි දූපතකි. වර්ෂය පුරා පවතින අධික උෂ්ණත්වය හා වර්ෂාපතනය එහි දේශගුණයේ කැපී පෙනෙන ලක්ෂණ වේ.

## උෂ්ණත්වය

ශ්‍රී ලංකාවේ සාමාන්‍ය වාර්ෂික උෂ්ණත්වය 27$^{0}$Cක් පමණ වේ. මෙම උෂ්ණත්වය ප්‍රදේශයෙන් ප්‍රදේශයට වෙනස් වේ. එය 2.4 සිතියමෙන් පැහැදිලි වේ.




2.4 සිතියම - ශ්‍රී ලංකාවේ වාර්ෂික උෂ්ණත්ව ව්‍යාප්තිය

උෂ්ණත්ව ව්‍යාප්තියේ වෙනස්කම්වලට බලපාන සාධක කිහිපයකි.

- ඉන්දියානු උපමහාද්වීපයට ආසන්න ව පිහිටීම
- උන්නතාංශය (භූමියේ උස)
- මුහුදේ සිට ඇති දුර
- වෙනස් වන සුළං රටාව

2.4 සිතියමට අනුව ශ්‍රී ලංකාවේ උතුරු ප්‍රදේශයේ උෂ්ණත්වය අධික වන අතර නැගෙනහිර, දකුණු හා නිරිතදිග පහත් බිම්වල උෂ්ණත්වය අඩු වේ. ශ්‍රී ලංකාවේ උතුරු ප්‍රදේශයේ උෂ්ණත්වය වැඩි වීමට හේතු වී ඇත්තේ ඉන්දියානු උපමහාද්වීපයේ බලපෑම යි. ඉන්දියාවේ උෂ්ණත්වය වැඩි වන විට එහි බලපෑමට ශ්‍රී ලංකාවේ මන්නාරම, යාපනය, අනුරාධපුරය වැනි ප්‍රදේශ ලක් වේ.

ඔබ මහනුවර හෝ නුවරඑළියට එසේත් නැත්නම් ශ්‍රී පාදස්ථානයට ගිය විට එම ප්‍රදේශවල උෂ්ණත්වය අඩු බව දැනෙනු ඇත. එසේ වීමට හේතුව භූමියේ උස අනුව උෂ්ණත්වය අඩු වීම යි. (2.2 වගුව)

**2.2 වගුව - භූමියේ උස අනුව උෂ්ණත්වය අඩු වීම**

| | උස (මීටර) | උෂ්ණත්වය |
|---|---|---|
| මහනුවර | 447 | $24.4^0C$ |
| නුවරඑළිය | 1882 | $15.4^0C$ |
| පිදුරුතලාගල | 2524 | $11.5^0C$ |

භූමියේ උස අනුව උෂ්ණත්වය අඩු වීම **පතන ශීඝ්‍රතාව** ලෙස හැඳින්වේ.

ශ්‍රී ලංකාව සමකාසන්න රටක් වීම නිසා උෂ්ණත්වය අධික වුව ද දිවයින වටා විශාල සාගරයක් ඇති බැවින් උෂ්ණත්වය අඩු වේ. එහෙත් රට අභ්‍යන්තර තැනිතලා ප්‍රදේශවලට සාගරයේ බලපෑම අඩු වන බැවින් ඉහළ උෂ්ණත්වයක් පවතී.

සෘතුමය සුළං ද ශ්‍රී ලංකාවේ උෂ්ණත්වය අඩු වීමට බලපාන සාධකයකි. සෘතු අනුව හමන මෝසම් සුළං හා වාසුළි බලපෑම් හේතු කොටගෙන උෂ්ණත්වය සමනය වේ.

## වර්ෂාපතනය

> කිසියම් කාලයක් තුළ දී ප්‍රදේශයකට ලැබෙන මුළු වැසි ප්‍රමාණය වර්ෂාපතනය වේ.

ශ්‍රී ලංකාවේ වාර්ෂික වර්ෂාපතනය 2.5 සිතියමෙන් දැක්වේ. එම සිතියමෙන් පෙනෙන පැහැදිලි ලක්ෂණයක් වන්නේ වර්ෂාපතන ව්‍යාප්තිය ප්‍රාදේශීය ව වෙනස් වීම යි. ශ්‍රී ලංකාවේ උතුරු, නැගෙනහිර සහ ගිනිකොන ප්‍රදේශවල අඩු වර්ෂාපතනයක් ද මධ්‍යම කඳුකර ප්‍රදේශයේ වැඩි වර්ෂාපතනයක් ද පැහැදිලි ව දැකගත හැකි ය. ශ්‍රී ලංකාවට වර්ෂාපතනය ලැබෙන ක්‍රම තුනකි.

01. සංවහන වර්ෂාව

02. මෝසම් වර්ෂාව

03. වාසුළි වර්ෂාව




**2.5 සිතියම - ශ්‍රී ලංකාවේ වාර්ෂික වර්ෂාපතනය**

## සංවහන වර්ෂාව

ශ්‍රී ලංකාව සමකාසන්න ව පිහිටා තිබීම නිසා අවුරුද්ද මුළුල්ලේ ම සංවහන ක්‍රියාවලියේ බලපෑමට ලක් වේ. එසේ වුව ද මෝසම් සහ වාසුළි වැනි ක්‍රියාවලීන් නිසා සංවහන ක්‍රියාවලිය ඇතැම් අවස්ථාවල දී යටපත් වී යයි. මෝසම් හා වාසුළි බලපෑම් අවසන් වූ විට සංවහන ක්‍රියාවලිය යළිත් ඉස්මතු වේ. ඒ අනුව ශ්‍රී ලංකාවේ සංවහන ක්‍රියාවලියේ කැපී පෙනෙන අවස්ථා දෙකකි.

01. මාර්තු, අප්‍රේල් මාසවල ක්‍රියාත්මක වන පළමු අන්තර් මෝසම් කාලය

02. ඔක්තෝබර්, නොවැම්බර් මාසවල ක්‍රියාත්මක වන දෙවන අන්තර් මෝසම් කාලය

ශ්‍රී ලංකාව සමකය ආසන්නයේ පිහිටා තිබීම නිසා අවුරුද්ද මුළුල්ලේ ම අධික සූර්යතාපයක් ලබන රටක් වශයෙන් පවතී. අප්‍රේල් සහ සැප්තැම්බර් යන මාසවල ශ්‍රී ලංකාවට හිරු මුදුන් වන බැවින් පොළෝතලය ආසන්නයේ වායුව රත් වී ඉහළ නගී. ඒවා සංවහන වායු ධාරා ලෙස හැඳින්වේ. ඉහළ ගිය වායුව සිසිල් වී එහි ඇති ජලවාෂ්ප ඝනීභවනය වී වලාකුළු සෑදීමෙන් වර්ෂාව හටගනී. මෙම වර්ෂාව සවස් කාලයේ ලැබීම විශේෂ ලක්ෂණයකි. උදය වරුවේ පැහැදිලි අහස හා සූර්යාලෝකය ලැබෙන අතර දහවල අහස වලාකුළුවලින් බර වී සවස් කල වැසි ලැබීම සිදු වේ. මේවා අසනි වැසි, සවස් කල වැසි, අකුණු කුණාටු වැසි ලෙස ද හැඳින්වේ.

## මෝසම් වර්ෂාව

මෝසම් සුළං අවුරුද්දේ නිශ්චිත කාලයක දී ගොඩබිම හරහා හමන සුළං විශේෂයකි. කාලයකට පමණක් හමන යන අර්ථයෙන් මෝසම් ලෙස නම් කෙරේ. ශ්‍රී ලංකාවට මෝසම් වර්ෂාව ලැබෙන කාල වකවානු දෙකකි.

1. නිරිතදිග මෝසම් වර්ෂාව (මැයි සිට සැප්තැම්බර් දක්වා)

2. ඊසානදිග මෝසම් වර්ෂාව (දෙසැම්බර් සිට පෙබරවාරි දක්වා)

## නිරිතදිග මෝසම් වර්ෂාව

ශ්‍රී ලංකාවේ නිරිත දෙසින් ඉන්දියන් සාගරය හරහා හමා එන මෙම සුළඟෙහි අඩංගු ජලවාෂ්ප වැඩි ය. ජලවාෂ්ප සහිත සුළං මධ්‍යම කඳුකරයේ ගැටී ඉහළ ගොස් ශ්‍රී ලංකාවේ නිරිත හා බටහිර ප්‍රදේශවලට අධික වර්ෂාවක් ලබා දේ. මධ්‍යම කඳුකරයේ සුළං මුවාවේ පිහිටි නැගෙනහිර ප්‍රදේශවලට ද ශ්‍රී ලංකාවේ උතුරු ප්‍රදේශවලට ද මෙමගින් අධික වැසි නොලැබේ. එය වියළි සුළඟක් ලෙස එම ප්‍රදේශ හරහා හමා යාම ඊට හේතුවයි. මෙම වියළි සුළඟ මඩකලපුව ප්‍රදේශයේ දී 'කච්චාන්' නමින් හැඳින්වේ.




**2.6 සිතියම - නිරිතදිග මෝසම් වර්ෂාව**

## ඊසානදිග මෝසම් වර්ෂාව

ශ්‍රී ලංකාවට ඊසාන දෙසින් හමා එන නිසා මෙය ඊසානදිග මෝසම ලෙස හඳුන්වයි. ඉන්දියාවේ සිට බෙංගාල බොක්ක වැනි කුඩා ජලතල ප්‍රදේශයක් හරහා හමා එන සුළඟක් බැවින් අඩංගු ජලවාෂ්ප ප්‍රමාණය අඩු ය. එබැවින් නිරිතදිග මෝසම්වලින් මෙන් වැඩි වැසි නොලැබේ. ශ්‍රී ලංකාවේ උතුරු හා නැගෙනහිර ප්‍රදේශවලට වැඩි වර්ෂාවක් ලැබේ.




**2.7 සිතියම - ඊසානදිග මෝසම් වර්ෂාව**

## වාසුළි වර්ෂාව

ශ්‍රී ලංකාවට බලපාන වාසුළි වැඩි වශයෙන් ඇති වන්නේ බෙංගාල බොක්ක ප්‍රදේශයේ ය. වාසුළි ප්‍රබල ව ක්‍රියාත්මක වන්නේ නොවැම්බර් දෙසැම්බර් මාසවල දී ය. එහෙත් අවුරුද්දේ ඕනෑ ම කාලයක වාසුළි ක්‍රියාත්මක විය හැකි ය. වාසුළිවලින් වැඩි වැසි ලැබෙන්නේ ශ්‍රී ලංකාවේ උතුරු හා නැගෙනහිර ප්‍රදේශවලට ය. ශ්‍රී ලංකාවේ නැගෙනහිර වෙරළින් රට තුළට පිවිසෙන මෙම වාසුළි වයඹ දිග වෙරළින් පිට ව යයි. වාසුළි බලපෑම් ඇති වන බොහෝ අවස්ථාවල දී ශ්‍රී ලංකාව පුරා ම විශාල ප්‍රදේශයකට එමගින් වැසි ලැබේ. මෝසම් සුළං ක්‍රියාත්මක වන කාලවල දී ද වාසුළිවල බලපෑම ක්‍රියාත්මක විය හැකි ය. එවැනි අවස්ථාවල දී අධික වර්ෂාපතනයක් ලැබෙන අතර ජල ගැලීම් ද ඇති වේ. සුළගේ තීව්‍රතාව අනුව වායු කැලඹීම්, අවපාත, සුළි කුණාටු ආදි නම්වලින් ද මෙම සුළං හැඳින්වේ.

## ක්‍රියාකාරකම්

1. කාලගුණය හා දේශගුණය යනු කුමක් දැයි අර්ථකථනය කරන්න.
2. ශ්‍රී ලංකාවේ උෂ්ණත්ව ව්‍යාප්තිය කෙරෙහි බලපාන සාධක තුනක් නම් කරන්න.
3. ශ්‍රී ලංකාවේ වර්ෂාපතනය ඇසුරු කරගෙන පහත සඳහන් වගුව සම්පූර්ණ කරන්න.

| වර්ෂාපතන ක්‍රමය | ලැබෙන කාලය | වර්ෂාපතනය ලැබෙන ප්‍රදේශ |
|---|---|---|
| | | |

## පැවරුම

ශ්‍රී ලංකාවේ වර්ෂාපතනය ආශ්‍රිත ව සිදු වන ආපදා තත්වයන් පිළිබඳ පින්තූර හා රූපසටහන් ඇතුළත් කරමින් බිත්ති පුවත්පතකට ලිපියක් සකස් කරන්න.

## ශ්‍රී ලංකාවේ දේශගුණික කලාප

සමාන දේශගුණික ලක්ෂණ පවතින ප්‍රදේශයක්, දේශගුණික කලාපයක් ලෙස හඳුනාගත හැකි ය. උෂ්ණත්වය, වර්ෂාපතනය වැනි සාධක අනුව ශ්‍රී ලංකාව දේශගුණික කලාප පහකට බෙදා ඇත. (2.8 සිතියම)

1. පහතරට තෙත් කලාපය
2. පහතරට වියළි කලාපය
3. කඳුකර තෙත් කලාපය
4. කඳුකර වියළි කලාපය
5. අර්ධ ශුෂ්ක කලාපය




2.8 සිතියම - ශ්‍රී ලංකාවේ දේශගුණික කලාප

## පහතරට තෙත් කලාපය

- ශ්‍රී ලංකාවේ නිරිතදිග තැනිතලා ප්‍රදේශය මෙයට අයත් ය.
- මෙම කලාපයේ සාමාන්‍ය වාර්ෂික වර්ෂාපතනය 2000mmට වැඩි වේ.
- සාමාන්‍ය වාර්ෂික උෂ්ණත්වය $27^0$Cක් පමණ වේ.
- මැයි සිට සැප්තැම්බර් දක්වා නිරිතදිග මෝසම් කාලය ප්‍රධාන වැසි සෘතුව වුව ද සාමාන්‍යයෙන් අවුරුද්ද මුළුල්ලේ ම වර්ෂාව පැවතිය හැකි ය.

- පෙබරවාරි සහ අගෝස්තු මාස තරමක් වියළි වුව ද මෙම කලාපයේ සාමාන්‍යයෙන් වියළි ඍතුවක් නොමැති තරම් ය.

## පහතරට වියළි කලාපය

- ශ්‍රී ලංකාවේ උතුරු හා නැගෙනහිර තැනිතලා ප්‍රදේශ මෙයට අයත් වේ.
- සාමාන්‍ය වාර්ෂික වර්ෂාපතනය 1250mm-2000mm අතර වේ.
- තෙත් හා වියළි කාලයක් පවතී.
- දෙසැම්බර් සිට පෙබරවාරි දක්වා කාලය තුළ ඊසානදිග මෝසමෙන් වැසි ලැබේ. එසේ ම මෙම කාලයේ දී වාසුළි මගින් ද වැසි ලැබිය හැකි ය.
- සමහර කාලවල දී වර්ෂාව අවිනිශ්චිත ය; අධික වාෂ්පීකරණයක් ද පවතී.

## කඳුකර තෙත් කලාපය

- මාතලේ, මහනුවර, නුවරඑළිය හා හපුතලේ නගර සම්බන්ධ කරන රේඛාවකින් වෙන් වුණ මධ්‍යම කඳුකරයේ බටහිර අර්ධය මීට අයත් වේ.
- අවුරුද්ද පුරා වැසි ලැබේ.
- සාමාන්‍ය වාර්ෂික වර්ෂාපතනය 3000mm පමණ වේ.
- ශ්‍රී ලංකාවේ වැඩි ම වර්ෂාපතනයක් ලැබෙන මාලිබොඩ, වටවල, කෙනිල්වර්ත් වැනි ස්ථාන මෙම කලාපයේ පිහිටා ඇත.
- දෙසැම්බර් සිට පෙබරවාරි දක්වා වියළි සුළං පවතී.

## කඳුකර වියළි කලාපය

- කඳුරට තෙත් ප්‍රදේශයේ නැගෙනහිර අර්ධය මෙයට අයත් වේ.
- සාමාන්‍ය වාර්ෂික වර්ෂාපතනය 1750mm-2000mm අතර වේ.
- ඊසානදිග මෝසමෙන් වැඩි වර්ෂාවක් ලැබෙන අතර සුළං මුවාවේ පිහිටීම නිසා නිරිතදිග මෝසමෙන් වැසි නොලැබේ.
- අවුරුද්දේ වැඩි කාලයක් වියළි සුළඟක් පවතී.

## අර්ධ ශුෂ්ක කලාපය

- ශ්‍රී ලංකාවේ වයඹ දිග පිහිටි මන්නාරම හා ඒ අවට ප්‍රදේශ, ගිනිකොන ප්‍රදේශයේ පිහිටි හම්බන්තොට ආදි ප්‍රදේශ මෙම කලාපයට අයත් වේ.
- සාමාන්‍ය වාර්ෂික වර්ෂාපතනය 650mm-1250mm අතර වේ.
- වර්ෂාපතනය අඩු ය. එය මාස 3-4කට සීමා වේ.
- සංවහන වැසි ක්‍රියාත්මක වේ.
- වාෂ්පීකරණය අධික ය.

## ශ්‍රී ලංකාවේ ස්වාභාවික වෘක්ෂලතා

මිනිසාගේ බලපෑමකින් තොර ව වැඩුණු ශාක පද්ධතිය ස්වාභාවික වෘක්ෂලතා වේ. ස්වාභාවික වෘක්ෂලතා වර්ධනයේ දී උෂ්ණත්වය, වර්ෂාතනය හා පස යන සාධක බලපායි. ශ්‍රී ලංකාවේ වෘක්ෂලතා ප්‍රධාන වශයෙන් උෂ්ණත්වය හා වර්ෂාපතනය යන දේශගුණික සාධක පදනම් කරගෙන වර්ග කර ඇත. ඒ අනුව වෘක්ෂලතා කලාප හතක් හඳුනාගෙන තිබේ. (2.9 සිතියම)






**2.9 සිතියම - ශ්‍රී ලංකාවේ වෘක්ෂලතා කලාප**

## පහතරට තෙත් කලාපීය වනාන්තර

| ව්‍යාප්ත වී ඇති ප්‍රදේශ |
| --- |
| • ශ්‍රී ලංකාවේ බටහිර හා නිරිතදිග ප්‍රදේශ |
| ▪ සිංහරාජය |
| ▪ කන්නෙලිය |
| ▪ දෙදියගල |
| ▪ නාකියාදෙනිය |
| ▪ මොරපිටිය |
| ▪ බඹරබොටුව |
| ▪ යාල |

| ප්‍රධාන ශාක |
| --- |
| • හොර |
| • කීන |
| • නා |
| • ගොඩපර |
| • මිල්ල |
| • මිදෙල්ල |
| • කිතුල් |
| • නැදුන් |

වෘක්ෂලතා ලක්ෂණ

- ගස් 30m-40mක් තරම් උස ය.
- වියන් ස්තර කිහිපයකි.
- වනාන්තර අවුරුද්ද මුළුල්ලේ ම වැඩෙමින් පවතී.
- තද කොළ පැහැති ය.
- ශාකවල මුදුන් එකිනෙකට යා වීම නිසා වනාන්තර තුළ අඳුරු ස්වභාවයක් පවතී.
- ශාක ඝන ව වැඩේ.
- යටි රෝපණ බහුල ය. වැල් වර්ග, පාසි, මීමන, ලයිකන, උඩවැඩියා ශාක බහුල ය.
- ජෛව විවිධත්වය ඉහළ ය.



2.3 රූපය - පහතරට තෙත් කලාපීය වනාන්තර

## පහතරට වියළි මිශ්‍ර සදාහරිත වනාන්තර

### ව්‍යාප්ත වී ඇති ප්‍රදේශ

- පහතරට වියළි කලාපය පුරා ව්‍යාප්ත වී ඇත.
  - සෝමාවතිය
  - විල්පත්තුව
  - මාදුරුඔය
  - උඩවලව
  - වස්ගොමුව
  - මහවැලි පිටාර තැනි

### ප්‍රධාන ශාක

- බුරුත
- කළුවර
- කොහොඹ
- වීර
- තේක්ක
- සූරියමාර
- මිල්ල
- පලු

### වෘක්ෂලතා ලක්ෂණ

- ගස්වල උස 20m-30mක් පමණ වේ.
- වර්ෂා කාලයේ දී ගස් වැඩෙන අතර වියළි කාලය තුළ දී ශාකවල වර්ධන වේගය අඩු ය.
- 2m-3mක් පමණ උස පඳුරු ශාක ද දැකිය හැකි ය.
- ඝන වනාන්තර නොවන අතර තැනින් තැන උස ගස් ඇත.
- වනාන්තර ලා කොළ පැහැයක් ගනී; තද අරටු සහිත ශාක ඇත.



2.4 රූපය - පහතරට වියළි මිශ්‍ර සදාහරිත වනාන්තර

## අතරමැදි සදාහරිත වනාන්තර

**ව්‍යාප්ත වී ඇති ප්‍රදේශ**

- තෙත් හා වියළි කලාපය වෙන් කරන ක්‍රාන්තීය කලාපයේ දක්නට ඇත.

  - කුරුණෑගල
  - බදුල්ල
  - මාතලේ
  - තංගල්ල

**ප්‍රධාන ශාක**

- කොස්
- පිහිඹිය
- ලුණුමිදෙල්ල
- මැහෝගනී
- සපු

**වෘක්ෂලතා ලක්ෂණ**

- තෙත් කලාපයේ සිට වියළි කලාපයට මාරු වන නිසා තෙත් හා වියළි කලාපීය ශාකවලින් සමන්විත වේ.
- තෙත් කලාපයේ හා වියළි කලාපයේ වැඩෙන ශාක මිශ්‍ර ව දැකිය හැකි ය.
- ගස් 10m-25m අතර උස ය.



2.5 රූපය - අතරමැදි සදාහරිත වනාන්තර

## කඳුකර තෙත් කලාපීය වනාන්තර

### ව්‍යාප්ත වී ඇති ප්‍රදේශ

- කඳුකරයේ 1200mට වඩා උස් බටහිර බෑවුම්වල ව්‍යාප්ත ව ඇත.
  - සමනල කන්ද
  - පිදුරුතලාගල
  - නකල්ස්
  - හෝර්ටන්තැන්න

### ප්‍රධාන ශාක

- වල්සපු
- කීන
- මිහිරිය
- දවට
- බෙරලිය
- මොර
- හුලංහික්

### වෘක්ෂලතා ලක්ෂණ

- ගස්වල සාමාන්‍ය උස 8m-10m දක්වා වේ.
- භූමියේ උස වැඩි වන විට ශාකවල උස ක්‍රමයෙන් අඩු වේ.
- ගස් වියනක් සේ වැඩේ, වර්ණවත් ශාක පත්‍ර ඇත.
- අපිශාක හා යටිරෝපණ බහුල වේ.



**2.6 රූපය - කඳුකර තෙත් කලාපීය වනාන්තර**

## කඳුකර වියළි කලාපීය වනාන්තර

### ව්‍යාප්ත වී ඇති ප්‍රදේශ

- මධ්‍යම කඳුකරයේ නැගෙනහිර අර්ධයේ 1400mට වඩා උස් බිම්වල ව්‍යාප්ත ව ඇත.
  - හෝර්ටන්තැන්න
  - සඳතැන්න
  - සීතාඑළිය
  - අඹේවෙල
  - කඳපොළ

### ප්‍රධාන ශාක

- මහරත්මල්
- අරළු
- බුළු
- නෙල්ලි
- දොඹ
- කහට

### වෘක්ෂලතා ලක්ෂණ

- පතන වර්ගයේ තෘණ ශාක ව්‍යාප්ත ව ඇත. (පතන, තලාව, දමන, විල්ලු)
- තැනින් තැන විසිරුණු ගස් ඇත.
- ගස් වැඩී ඇත්තේ සුළඟට ඔරොත්තු දෙන අන්දමට ය. ගස් කුරු වී ඇති අතර තද සීතලට හා සුළඟට ඔරොත්තු දෙයි. ගස් ඇඹරුණු ස්වරූපයක් ද ගනී.
- වනාන්තර වලාකුළු වනාන්තර ලෙස හඳුන්වයි. එසේ හඳුන්වන්නේ ඉහළ සිට බලන විට ශාක වියන වලාකුළු ස්වරූපයක් ගන්නා බැවිනි.
- පත්‍ර කුඩා වන අතර හැකිළුණු ස්වරූපයක් ගනී.
- තුනී පස්තට්ටුව නිසා ගස් සරුවට නොවැඩේ.



2.7 රූපය - කඳුකර වියළි කලාපීය වනාන්තර

## කටුපඳුරු හා ලඳු කැලෑ

**ව්‍යාප්ත වී ඇති ප්‍රදේශ**

- ශ්‍රී ලංකාවේ වයඹ හා ගිනිකොනදිග ප්‍රදේශවල ව්‍යාප්ත වී ඇත.
  - හම්බන්තොට දිස්ත්‍රික්කය ආශ්‍රිත ප්‍රදේශ
  - මන්නාරම දිස්ත්‍රික්කය ආශ්‍රිත ප්‍රදේශ

**ප්‍රධාන ශාක**

- එරමිණියා
- පතොක්
- පලු

**වෘක්ෂලතා ලක්ෂණ**

- ශාක පත්‍ර ඝන ය; බූව සහිත වේ; කටු සහිත ය.
- ශාක පත්‍ර කුඩා ය.

  මෙසේ වන්නේ වියළි දේශගුණයට අනුවර්තනය වීම නිසා ය.
- දිගු නියං කාලවලට ඔරොත්තු දෙන ශාක ඇත.



**2.8 රූපය - කටුපඳුරු හා ලඳු කැලෑ**

## කඩොලාන

| ව්‍යාප්ත වී ඇති ප්‍රදේශ |
| --- |
| • කලපු හා ගංමෝය ආදි වෙරළ ආශ්‍රිත ප්‍රදේශවල ව්‍යාප්ත ව ඇත. |

- කලමැටිය
- බූන්දල
- මුතුරාජවෙල
- ආනවිලුන්දාව
- ත්‍රිකුණාමලය

| ප්‍රධාන ශාක |
| --- |

- කිරළ
- ගිංපොල්
- කටු ඉකිලි
- කඩොල්
- දියකඳුරු
- වල් අනෝදා

වෘක්ෂලතා ලක්ෂණ

- වෘක්ෂලතාවල කරු මුල් සහ කයිරු මුල් බහුල ය.
- ජලයෙන් ඉහළට මුල් විහිදේ, ඒවා වායුධර මුල් ලෙස හැඳින්වේ.
- කිවුල් දියට අනුවර්තනය වූ ශාක ඇත.



**2.9 රූපය - කඩොලාන**

ඉහත සඳහන් කළ කරුණු අනුව ශ්‍රී ලංකාව තුළ භෞතික වශයෙන් විවිධත්වයක් පවතින බව පැහැදිලි ය. භූ විෂමතාව, දේශගුණය, වෘක්ෂලතා, ජලවහනය ආදියෙන් මේ විවිධත්වය ඉතා කුඩා භූමි ප්‍රමාණයක දී වුව ද දැකගත හැකි ය. එසේ වන්නේ ශ්‍රී ලංකාව කුඩා දූපතක් වීම නිසා ය.

වියළි දේශගුණයේ සිට ශීත දේශගුණය දක්වා වෙනස් වන තත්වයන් අත්විඳීමට හැකි වන දේශගුණික රටාවක් ශ්‍රී ලංකාවේ ඇත. හම්බන්තොට සිට නුවරඑළිය දක්වා ගමන් කරන්නකුට ඒ අසිරිය විඳගත හැකි වේ. අපට පැය කිහිපයක් තුළ දී වෘක්ෂලතා, ජලවහන හා දේශගුණික විවිධත්වයන් දැකගත හැකි ය. මෙම භෞතික විවිධත්වය පරිසරයේ පැවැත්මට මෙන් ම මිනිසාගේ චිරස්ථායී පැවැත්මට ද හේතු වී ඇත. ශ්‍රී ලංකාවේ මෙම භෞතික විවිධත්වය දෙස් විදෙස් සංචාරක ආකර්ෂණයට ද හේතු වී තිබේ.

**පැවරුම**

ශ්‍රී ලංකාවේ භූ විෂමතාව, දේශගුණය සහ වෘක්ෂලතා හඳුනා ගැනීම සඳහා චාරිකාවක් සැලසුම් කරන්න. එහි දී භූ විෂමතා ලක්ෂණ, දේශගුණික ලක්ෂණ සහ වෘක්ෂලතා ලක්ෂණ පිළිබඳ තොරතුරු ගොනුවක් සකස් කරවන්න.

# මානුෂ භූ දර්ශනය

මානුෂ භූ දර්ශනය නිර්මාණය වීමේ දී බලපාන ප්‍රධාන සාධක වන්නේ ජන සංඛ්‍යාව හා ජන සංඛ්‍යාවේ ක්‍රියාකාරකම් ය.

ශ්‍රී ලංකාවේ ජන සංඛ්‍යාව මිලියන 20.2කි. එය සෑම වසරක ම වැඩි වෙමින් පවතී. ජන සංඛ්‍යාව පිළිබඳ තොරතුරු ලබාගන්නේ ජන හා සංඛ්‍යාලේඛන දෙපාර්තමේන්තුව මගින් පවත්වනු ලබන ජන සංගණනවලිනි. අවුරුදු 10කට වරක් මෙම සංගණන පවත්වනු ලැබේ.

## ශ්‍රී ලංකාවේ ජන ව්‍යාප්තිය

ශ්‍රී ලංකාවේ ජන සංඛ්‍යාව අසම ලෙස ව්‍යාප්ත වී ඇත. ජන සංඛ්‍යාවෙන් බහුතරය ජීවත් වන්නේ තෙත් කලාපයේ ය. ඊට සාපේක්ෂ ව වියළි කලාපයේ ජීවත් වන්නේ අඩු ජන සංඛ්‍යාවකි. (2.10 සිතියම) මුළු




**2.10 සිතියම - ශ්‍රී ලංකාවේ ජන ව්‍යාප්තිය**

ජන සංඛ්‍යාවෙන් 1/4ක් බස්නාහිර පළාත තුළ ඒකරාශී වී ඇති අතර අඩු ම ව්‍යාප්තියක් පෙන්නුම් කරන්නේ උතුරු පළාත යි. කොළඹ දිස්ත්‍රික්කයේ ජන සංඛ්‍යාව වැඩි වීමට හේතු වී ඇත්තේ පරිපාලනමය හා වාණිජමය කටයුතු සංකේන්ද්‍රණය වීමත් ඒ ආශ්‍රිත ව කර්මාන්ත, ප්‍රවාහන, අධ්‍යාපන, සෞඛ්‍ය ආදි සේවා පහසුකම් බහුල වීමත් ය. මොනරාගල, වවුනියාව, මන්නාරම, මුලතිව් දිස්ත්‍රික්කවල අඩු ජන සංඛ්‍යා ව්‍යාප්තියක් පෙන්නුම් කරයි. එම ප්‍රදේශවල පවතින භෞතික පහසුකම් හා යටිතල පහසුකම් අඩු වීම එයට හේතු වී ඇත. ජන ව්‍යාප්තියේ වෙනස්කම් ප්‍රමාණාත්මක ව ජන ඝනත්වය මගින් දැක්විය හැකි ය. එය 2.11 සිතියමෙන් දැක්වේ.

මෙම අසම ව්‍යාප්තිය පළාත් අනුව ද දිස්ත්‍රික්ක අනුව ද විස්තර කළ හැකි ය. 2012 ජන සංගණනයට අනුව ශ්‍රී ලංකාවේ වර්ග කිලෝමීටරයකට සිටින පුද්ගලයන් සංඛ්‍යාව 323 දෙනෙකි. එහෙත් සෑම ප්‍රදේශයක ම ජනයා ඒ ආකාරයෙන් සමාන ව ව්‍යාප්ත වී ඇති බවක් මින් අදහස් නොකෙරේ. ඒ බව 2.11 සිතියමෙන් පැහැදිලි වේ.

තෝරාගත් දිස්ත්‍රික්ක කිහිපයක ජන ඝනත්වය අනුව ජන සංඛ්‍යා ව්‍යාප්තියේ ප්‍රාදේශීය වෙනස්කම් 2.3 වගුවෙන් හඳුනාගත හැකි ය.



2.11 සිතියම - ශ්‍රී ලංකාවේ දිස්ත්‍රික්ක අනුව ජන ඝනත්වය

## ජන සංයුතිය

අපේ රටේ ජන සංඛ්‍යාවේ සංයුතිය විවිධාකාරයෙන් විග්‍රහ කළ හැකි ය. ස්ත්‍රී පුරුෂ භාවය, වයස, වාර්ගික කණ්ඩායම හා ආගම් අනුව ජන සංයුතිය දැක්විය හැකි ය.

**2.3 වගුව - ශ්‍රී ලංකාවේ දිස්ත්‍රික්ක කිහිපයක ජන ඝනත්වය**

| දිස්ත්‍රික්කය | ජන ඝනත්වය |
|---|---|
| කොළඹ | 3305km$^2$ |
| ගම්පහ | 1541km$^2$ |
| මහනුවර | 664km$^2$ |
| හම්බන්තොට | 210km$^2$ |
| මොනරාගල | 72km$^2$ |

## ස්ත්‍රී පුරුෂ භාවය අනුව ජන සංයුතිය

2012 සංගණනය අනුව ජන සංඛ්‍යාවෙන් 51.5%ක් ස්ත්‍රීන් වන අතර 48.5%ක් පුරුෂයන් වේ. පුරුෂයන්ගේ ප්‍රතිශතය ක්‍රමයෙන් අඩු වන බව සංඛ්‍යා ලේඛන මගින් පැහැදිලි වේ. මෙය පුමිතිරි අනුපාතය මගින් වඩාත් පැහැදිලි ව දක්විය හැකි ය.

පුමිතිරි අනුපාතය යනුවෙන් අදහස් වන්නේ ජන සංඛ්‍යාවේ ස්ත්‍රීන් 100කට සිටින පුරුෂයන් සංඛ්‍යාව යි. 1981 සහ 2012 වර්ෂවල සංගණන වාර්තා අනුව ශ්‍රී ලංකාවේ පුමිතිරි අනුපාතය වෙනස් වී ඇති ආකාරය පහත වගුවේ දක්වේ.

**2.4 වගුව - ශ්‍රී ලංකාවේ පුමිතිරි අනුපාතය**

| වර්ෂය | පුමිතිරි අනුපාතය |
|---|---|
| 1981 | 104.0 |
| 2012 | 94.3 |

මූලාශ්‍රය : ජන හා සංඛ්‍යා ලේඛන වාර්තා ඇසුරෙන් සකස් කරන ලදි.

## වයස් සංයුතිය

වයස් සංයුතිය අනුව 1981ට වඩා 2012 දී අවුරුදු 60ට වැඩි වයස්ගත ජන සංඛ්‍යාවෙන් වැඩි වී ඇති බව පෙනේ (2.5 වගුව).

**2.5 වගුව - වයස් සංයුතිය අනුව ජන සංඛ්‍යාව**

| වයස | සංඛ්‍යාව (%) - (1981) | සංඛ්‍යාව (%) - (2012) |
|---|---|---|
| අවු. 14ට අඩු | 35.2 | 25.3 |
| අවු. 15-59 | 58.2 | 62.3 |
| අවු. 60ට වැඩි | 06.6 | 12.4 |

මූලාශ්‍රය : ජන හා සංඛ්‍යා ලේඛන වාර්තා ඇසුරෙන් සකස් කරන ලදි.

## වාර්ගික ජන සංයුතිය

ජන වර්ග අනුව ජන සංයුතිය පහත දැක්වේ.

**2.6 වගුව - ජන වර්ග අනුව ජන සංයුතිය**

| ජන වර්ගය | ප්‍රතිශතය (2012) |
|---|---|
| සිංහල | 74.9 |
| ශ්‍රී ලංකා දෙමළ | 11.2 |
| ශ්‍රී ලංකා යෝනක | 9.2 |
| ඉන්දීය දෙමළ | 4.2 |
| වෙනත් | 0.5 |

**2.1 ප්‍රස්තාර - ජන වර්ග අනුව ජන සංයුතිය**




## ආගම අනුව ජන සංයුතිය

ආගම අනුව ශ්‍රී ලංකාවේ ජන සංයුතිය පහත දැක්වේ.

**2.7 වගුව - ආගම අනුව ශ්‍රී ලංකාවේ ජන සංයුතිය**

| ආගම | ප්‍රතිශතය (2012) |
|---|---|
| බෞද්ධ | 70.2 |
| හින්දු | 12.6 |
| ඉස්ලාම් | 9.7 |
| රෝමානු කතෝලික | 6.1 |
| ක්‍රිස්තියානි | 1.3 |
| වෙනත් | 0.1 |

**2.2 ප්‍රස්තාරය - ආගම අනුව ශ්‍රී ලංකාවේ ජන සංයුතිය**




## ජන සංඛ්‍යා වර්ධනය

රටක දළ උපත් අනුපාතිකය සහ දළ මරණ අනුපාතිකය අතර වෙනස ජන සංඛ්‍යාවේ ස්වාභාවික වර්ධනය ලෙස ගැනේ. එයට ශුද්ධ සංක්‍රමණය එකතු කළ විට (රට තුළට හා පිටතට සිදු වන සංක්‍රමණයේ වෙනස) සමස්ත ජන සංඛ්‍යාවේ වර්ධනය ලෙස සැලකේ. 2.3 ප්‍රස්තාරය මගින් 1871 සිට 2012 දක්වා ජන සංඛ්‍යාව වර්ධනය වූ ආකාරය පෙන්නුම් කරයි.

**2.3 ප්‍රස්තාරය - ජන සංඛ්‍යාවේ වර්ධනය 1871 - 2012**




## ජනාවාස

පාරිසරික කටුක බවින් මිදීමටත් වන සතුන්ගෙන් හා සතුරන්ගෙන් ආරක්ෂා වීමටත් සාමූහික ව ජීවත් වීමටත් මිනිසුන් ඒකරාශි වීමෙන් ජනාවාස බිහි වේ.

ජනාවාසයක් යනු වාසස්ථානයක් පමණක් ම නොවේ. මිනිසාගේ ආර්ථික, සමාජීය හා සංස්කෘතික කටයුතු සඳහා තනන ලද ආයතන, සිද්ධස්ථාන, ගොඩනැගිලි, ගෙවතු, ගොවිබිම්, යටිතල පහසුකම් ආදි දේ ඇතුළත් ඒකකයකි.

ජනාවාස ප්‍රධාන වශයෙන් වර්ග තුනකි.

- ග්‍රාමීය ජනාවාස
- නාගරික ජනාවාස
- ගැමි නාගරික ජනාවාස

## ග්‍රාමීය ජනාවාස

සම්පත් පරිහරණයේ දී ප්‍රාථමික කටයුතුවලට වැඩි අවධානයක් යොමු කරනු ලබන කෘෂිකර්මාන්තය හා ධීවර කර්මාන්තය මත පදනම් වූ ජනාවාස ග්‍රාමීය ජනාවාස වේ. වියළි කලාපීය වැව් ගම්මාන සහ වෙරළබඩ ධීවර ගම්මාන ඊට නිදසුන් වේ.



2.10 රූපය - ග්‍රාමීය ජනාවාස කිහිපයක්

## නාගරික ජනාවාස



2.11 රූපය - නාගරික ජනාවාස

කෘෂිකාර්මික නොවන කාර්යන්හි නියැලි කේන්ද්‍රගත වූ සීමිත බිම් ප්‍රමාණයක අධික ජන සංඛ්‍යාවක් ඒකරාශි වී ඇති ප්‍රදේශ නාගරික ජනාවාස ලෙස හැඳින්වේ. කොළඹ, ගම්පහ, මහනුවර, යාපනය, මාතර ආදිය ඊට නිදසුන් වේ.

## ගැමි නාගරික ජනාවාස



2.12 රූපය - ගැමි නාගරික ජනාවාස

ග්‍රාමීය මෙන් ම නාගරික ලක්ෂණ මිශ්‍ර වී ඇති ජනාවාස ගැමි නාගරික ජනාවාස වේ. මෙම ප්‍රදේශවලින් ග්‍රාමීය ලක්ෂණ ඈත් වී යන අතර නාගරික ලක්ෂණ ඉස්මතු වෙමින් පවතී. ප්‍රධාන නගරවලට තදාසන්න ප්‍රදේශ මීට නිදසුන් වේ.

### ක්‍රියාකාරකම්

1. ශ්‍රී ලංකාවේ අඩු ම හා වැඩි ම ජන ඝනත්වයක් ඇති දිස්ත්‍රික්ක දෙක නම් කරන්න.
2. බස්නාහිර පළාතේ ජන සංඛ්‍යාව වැඩි වීමට බලපාන හේතු හතරක් සඳහන් කරන්න.
3. ශ්‍රී ලංකාවේ වැඩිහිටි ජන සංඛ්‍යාව වැඩි වීමට බලපා ඇති සාධක මොනවා ද?
4. ජනාවාසයක් යන්න කෙටියෙන් හඳුන්වන්න.

## ආර්ථික ක්‍රියාකාරකම්

ශ්‍රී ලංකාවේ ආර්ථික ක්‍රියාකාරකම් ප්‍රධාන වශයෙන් අංශ තුනකට බෙදා දැක්විය හැකි ය.

- කෘෂිකාර්මික අංශය
- කාර්මික අංශය
- සේවා අංශය



2.13 රූපය - ආර්ථික ක්‍රියාකාරකම්

### කෘෂිකාර්මික අංශය

ශ්‍රී ලංකාවේ විවිධ කෘෂිකාර්මික ක්‍රියාකාරකම් දක්නට ලැබේ. වියළි කලාපයේ වී, ගෙවතු සහ හේන් වගාවන් ද තෙත් කලාපයේ තේ, පොල්, වී, රබර් සහ එළවළු වගාව ද කඳුකර ප්‍රදේශවල තේ වගාව ආදිය ද මීට නිදසුන් ය. ධීවර කර්මාන්තය සහ සත්ව පාලනය ද කෘෂිකාර්මික අංශයට අයත් වේ. නිදසුන් ලෙස වෙරළබඩ හා අභ්‍යන්තර ජලාශවල ධීවර කර්මාන්තය සිදු කෙරේ. අඹේවෙල, පට්ටිපොළ, පොළොන්නරුව, හම්බන්තොට ආදි ප්‍රදේශවල සත්ව පාලනය සිදු කෙරේ.

### කාර්මික අංශය

ශ්‍රී ලංකාවේ කර්මාන්ත වැඩි වශයෙන් ව්‍යාප්ත ව ඇත්තේ බස්නාහිර පළාත තුළ ය. එහි විවිධ වර්ගයේ කර්මාන්ත ව්‍යාප්ත ව ඇත. ඒවා අතර එකලස් කිරීමේ කර්මාන්ත, ප්ලාස්ටික්, ටයර්, රෙදිපිළි, රසකැවිලි, හස්ත කර්මාන්ත ආදිය ප්‍රධාන ය. ඒ හැරුණුවිට රජය විසින් කාර්මික කලාප ද පිහිටුවා ඇත. බියගම, කටුනායක, කොග්ගල වැනි නිදහස් වෙළෙඳ කලාප ද සීතාවක, කොලොන්නාව, රත්මලාන, මිනුවන්ගොඩ වැනි කර්මාන්තපුර ද ඊට නිදසුන් ය.

## සේවා අංශය

රටක ජනතාවගේ ජීවන තත්වය නගාසිටුවීම සඳහා සේවා අංශය වැදගත් වේ. අධ්‍යාපනය, සෞඛ්‍ය, ප්‍රවාහනය, විදුලි බලය, ජල සැපයුම, ආරක්ෂක, සනීපාරක්ෂක හා සන්නිවේදන සේවා ආදිය සේවා අංශයට අයත් වේ. ශ්‍රී ලංකාවේ රැකියා ගත්විට සේවා අංශයේ දායකත්වය වැඩි වෙමින් පවතී. සේවා පහසුකම් වැඩි වශයෙන් ව්‍යාප්ත ව ඇත්තේ නගරබද ප්‍රදේශවල ය.

## යටිතල පහසුකම්

මෑත කාලයේ ශ්‍රී ලංකාවේ ජනතාවගේ ජීවන තත්වය නංවාලීම සඳහා යටිතල පහසුකම් සංවර්ධනය කෙරෙහි විශේෂ අවධානයක් යොමු කොට ඇත. මාර්ග, විදුලිය, ජලය ආදිය යටිතල පහසුකම් අතර ප්‍රධාන තැනක් ගනී.

යටිතල පහසුකම් වර්ධනයේ දී මහාමාර්ග ප්‍රවාහනය ඉතා වැදගත් තැනක් ගනී. ශ්‍රී ලංකාවේ මාර්ග ප්‍රවාහන ක්ෂේත්‍රය වසරකට 5% - 6%ත් අතර වේගයකින් වර්ධනය වේ. ශ්‍රී ලංකාවේ මාර්ග පද්ධතිය ගත්විට සෑම ප්‍රදේශයකට ම ව්‍යාප්ත වූ ප්‍රමාණවත් මාර්ග පද්ධතියක් ඇත. දිනක් ඇතුළත ඕනෑ ම ස්ථානයකට යාමේ පහසුව ඇත. නාගරික ප්‍රදේශවල මාර්ග ජාලය පුළුල් වුවත් මාර්ග තදබදය තවමත් පවතී.

මාර්ග ප්‍රවාහන ක්ෂේත්‍රයේ වර්ධනය සඳහා මෑත කාලීන රජයයන් විසින් විවිධ පියවර ගෙන ඇත.

- මාර්ග පුළුල් කිරීම
- ග්‍රාමීය මාර්ග ඉදි කිරීම සහ සංවර්ධනය
- ගුවන් පාලම් ඉදි කිරීම
- අධිවේගී මාර්ග ඉදි කිරීම



2.14 රූපය - ශ්‍රී ලංකාවේ අධිවේගී මාර්ගයක්

## විදුලිය

ශ්‍රී ලංකාවේ සෑම ප්‍රදේශයකට ම විදුලිය පහසුකම් සපයා ඇත. මහවැලි, කැලණි, කළු, වලවේ යන ප්‍රධාන ගංගා ඇසුරින් ඉදි කරන ලද ජල විදුලි යෝජනා ක්‍රමවලින් විදුලි බලය නිපදවනු ලැබේ. ලංකාවට විදුලිය සපයන මාර්ග අතර තාප විදුලිය සහ ජල විදුලිය ප්‍රධාන වේ. ඊට අමතර සූර්ය ශක්තිය වැනි පුනර්ජනනීය බලශක්ති මූලාශ්‍ර භාවිතය ද වර්ධනය වෙමින් පවතී.

## ජලය

ශ්‍රී ලංකාව ජල සම්පතින් අනූන රටකි. මිනිසුන්ගේ ජල අවශ්‍යතා සපුරා ගැනීම සඳහා ගංගා, ඇළදොළ, ළිං, වැව්, පොකුණු, නල ජලය සහා භූගත ජලය ආදි මූලාශ්‍ර භාවිත කරයි. මෙමගින් ලබා ගන්නා ජලය ආහාර පිසීම, බීමට ගැනීම, සනීපාරක්ෂක කටයුතු වැනි සරල අවශ්‍යතාවල සිට කෘෂිකාර්මික, කාර්මික හා බලශක්ති උත්පාදනය දක්වා ඇති සංකීර්ණ අවශ්‍යතා දක්වා උපයෝගි කර ගනී. සියලු දෙනාගේ ජීවමය මෙන් ම ආර්ථික කටයුතු ද රඳාපවතින්නේ ජලය මත ය.

මෙබඳු අවශ්‍යතා ඉටු කර ගැනීමේ දී භාවිත වන ජල මූලාශ්‍ර වර්තමානයේ අපිරිසිදු වෙමින් පවතී. පානීය ජල අවශ්‍යතා සඳහා නාගරික ප්‍රදේශවල නල ජලය වැදගත් වන අතර ග්‍රාමීය ප්‍රදේශවල ළිං, පොකුණු, වැව් ආදිය වැදගත් වේ. ඒ ඒ ප්‍රදේශ අනුව ජල මූලාශ්‍රවල වැදගත්කම තීරණය වී ඇත.

ජලය අපට පමණක් නොව ලෝකයේ බොහෝ රටවල්වලට සීමිත සම්පතකි. එම සම්පත අපතේ නොහැර ඉන් උපරිම ඵල ප්‍රයෝජන ලැබීමත් මතු පරපුරට හිමි කර දීම සඳහා ඵලදායි ලෙස භාවිත කිරීමත් අපගේ යුතුකම වේ.

### ක්‍රියාකාරකම්

1. ශ්‍රී ලංකාවේ ආර්ථික ක්‍රියාකාරකම්වල ප්‍රධාන අංශ තුනක් සඳහන් කරන්න.
2. ජලය හා විදුලිය අරපිරිමැස්මෙන් භාවිත කළ යුතු ය. මෙයට බලපාන හේතු තුනක් පැහැදිලි කරන්න.

# ශ්‍රී ලංකාවේ භෞතික භූ දර්ශනය මානුෂ ක්‍රියාකාරකම් කෙරෙහි සිදු කරන බලපෑම

ශ්‍රී ලංකාවේ භෞතික භූ දර්ශනය මානුෂ ක්‍රියාකාරකම් කෙරෙහි තීරණාත්මක ලෙස බලපායි. මෙම භූ දර්ශනය ප්‍රාදේශීය ව වෙනස් වන අතර ඒ අනුව මානුෂ භූ දර්ශනයේ ද ප්‍රාදේශීය වෙනස්කම් දැකිය හැකි ය.

## වෙරළබඩ කලාපය



**2.15 රූපය - වෙරළබඩ කලාපීය භූ දර්ශනය**

2.15 රූපයෙන් දැක්වෙන්නේ වෙරළබඩ කලාපයේ දක්නට ලැබෙන මානුෂ ක්‍රියාකාරකම් කිහිපයකි. මෙහි දක්නට ලැබෙන ධීවර කර්මාන්තය, කොහු කර්මාන්තය, හුණු ගල් කර්මාන්තය, ලුණු කර්මාන්තය සහ සංචාරක කර්මාන්තය ආදිය භෞතික පරිසරය උපයෝගි කරගනිමින් බිහි වී තිබේ.

## ක්‍රියාකාරකම්

1. ඉහත සඳහන් රූපයෙන් දක්වෙන වෙරළ කලාපයට පොදු වූ මිනිස් ක්‍රියාකාරකම් මොනවා ද?
2. මෙම රූපවල සඳහන් නොවන වෙරළ කලාපයේ ඇති වෙනත් මානුෂ ක්‍රියාකාරකම් මොනවා ද?
3. ඔබ සඳහන් කළ මානුෂ ක්‍රියාකාරකම් සඳහා වෙරළ කලාපයේ ඇති භෞතික පහසුකම් මොනවා දැයි සඳහන් කරන්න.

## තෙත් කලාපය



2.16 රූපය - තෙත් කලාපීය භූ දර්ශනය

මෙම කලාපයේ භූ දර්ශනය ගත් විට මානුෂ ක්‍රියාකාරකම් සඳහා උචිත භෞතික පරිසරයක් ඇත. විවිධ වගාවන් ද, අධික ජන ව්‍යාප්තියක් ද දියුණු මාර්ග පද්ධතියක් ද මෙහි දැකිය හැකි ය. ඉහත 2.16 රූපයෙන් දක්වෙන්නේ තෙත් කලාපය තුළ සිදු කෙරෙන මානුෂ ක්‍රියාකාරකම් කිහිපයකි.

## ක්‍රියාකාරකම්

1. මෙම පින්තූරවලින් පෙනෙන මානුෂ ක්‍රියාකාරකම් මොනවා ද, ඒවා ලැයිස්තුවක් සකස් කරන්න.
2. මෙම ප්‍රදේශයේ වැවෙන බෝග වර්ග කිහිපයක් සඳහන් කරන්න.
3. එම බෝග වගාවට බලපා ඇති භෞතික සාධක මොනවා දැයි සඳහන් කරන්න.
4. මෙම ප්‍රදේශයේ බහුල ව දක්නට ලැබෙන සේවාවන් හා රැකියා නම් කරන්න.
5. මෙම ප්‍රදේශ ජනාධික වීමට හේතු දෙකක් සඳහන් කරන්න.

## වියළි කලාපය



2.17 රූපය - වියළි කලාපීය භූ දර්ශනය

වියළි කලාපයේ භූ දර්ශනයේ කැපී පෙනෙන අංගයක් ලෙස වැව් පද්ධතිය වැදගත් වේ. භූ විෂමතාවට අනුව සකස් වූ වැව් පද්ධතියක් ද ඒ හා සම්බන්ධ වූ වාරි පද්ධතිය ද මෙම කලාපයට සුවිශේෂී වේ. වී වගාව, හේන් වගාව ආදි කෘෂිකාර්මික කටයුතු ද වැව් ආශ්‍රිත ව බිහි වූ ගම්මාන ද ඓතිහාසික නගර ද මෙම කලාපයේ දැකිය හැකි සුවිශේෂී ලක්ෂණ වේ.

### ක්‍රියාකාරකම්

1. ඉහත රූපයේ සඳහන් පරිදි වියළි කලාපයේ දක්නට ලැබෙන මානුෂ ක්‍රියාකාරකම් මොනවා ද?
2. මෙම කලාපයේ වී වගාව දියුණු වීමට බලපා ඇති ප්‍රධාන භෞතික සාධක මොනවා ද?

## කඳුකර කලාපය




**2.18 රූපය - කඳුකර කලාපීය භූ දර්ශනය**

කඳුකර කලාපය තුළ එයට ම සුවිශේෂ වූ භූ විෂමතාවක් හා දේශගුණයක් ද පවතින අතර මානුෂ ක්‍රියාකාරකම් ද ඒ අනුව සකස් වී ඇත. 2.18 රූපයෙන් එම ලක්ෂණ හඳුනාගන්න.

### ක්‍රියාකාරකම්

1. කඳුකර භූ දර්ශනයේ කැපී පෙනෙන මිනිස් ක්‍රියාකාරකම් මොනවා ද?
2. මෙම කලාපයට සුවිශේෂ වූ බෝග වගාවන් සඳහන් කරන්න.
3. එම එක් එක් බෝග සඳහා බලපා ඇති භෞතික සාධක සඳහන් කරන්න.

4. මෙම කඳුකර ප්‍රදේශයේ මාර්ග වංගු සහිත ය. එසේ වීමට හේතු මොනවා ද?
5. කඳුකර ප්‍රදේශයේ නිවාස උසින් අඩු වීමට හා වහලය කොළ පාටින් අලේප කිරීමට බලපා ඇති හේතු මොනවා ද?
6. කඳුකර කලාපය තුළ සංචාරක ආකර්ෂණය වැඩි වීමට බලපා ඇති හේතු මොනවා ද?
7. මෙම කලාපයේ මිනිසුන් කබා වැනි ගන ඇඳුම් භාවිත කරන්නේ ඇයි?

## යාපන අර්ධද්වීපය



2.19 රූපය - යාපන අර්ධද්වීපය

ශ්‍රී ලංකාවේ උතුරු ප්‍රදේශයේ යාපන අර්ධද්වීපය ආශ්‍රිත කලාපය සුවිශේෂී භූ දර්ශනයක් ඇති කලාපයකි. මෙම කලාපයේ හුණු ගල් බහුල වන අතර කර්කෂ දේශගුණයක් ද ඇත. මෙහි භූගත ජලය සහ රතු පස ප්‍රයෝජනයට ගනිමින් කෘෂිකර්මය දියුණු කරගෙන ඇත. භූ දර්ශනයේ කැපී පෙනෙන ලක්ෂණ රාශියක් 2.19 රූපයෙන් දැක්වේ.

## ක්‍රියාකාරකම්

1. 2.19 රූපයේ දැක්වෙන යාපන අර්ධද්වීපයේ මානුෂ ක්‍රියාකාරකම් මොනවා ද?
2. මෙම ප්‍රදේශයේ භූගත ජලය ප්‍රයෝජනයට ගැනීම සඳහා යොදාගන්නා ක්‍රම සඳහන් කරන්න.
3. මෙම ප්‍රදේශයේ සුවිශේෂ වූ වගාවන් හා කර්මාන්ත නම් කරන්න.
4. යාපන ප්‍රදේශයේ දූපත් රාශියක් පිහිටා ඇති අතර ඒ ආශ්‍රිත ව බිහි වී ඇති මානුෂ ක්‍රියාකාරකම් මොනවා ද?
5. තල් ගස ආශ්‍රිත නිෂ්පාදන කිහිපයක් ලියන්න.

# ශ්‍රී ලංකාවේ මානුෂ ක්‍රියාකාරකම් භෞතික භූ දර්ශනය කෙරෙහි ඇති කරන බලපෑම්

විවිධ පරිසර තත්වයන් අනුව මානුෂ ක්‍රියාකාරකම් තීරණය වී ඇති බව ඉහත විස්තර කර ඇත. ජන සංඛ්‍යාව වැඩි වීමත් සමග භෞතික පරිසරය හා සම්පත් භාවිතය වැඩි වේ. ඒ අනුව භෞතික පරිසරයට ඇති කරන බලපෑම් ද වැඩි වේ. ශ්‍රී ලංකාවේ මානුෂ ක්‍රියාකාරකම් භෞතික භූ දර්ශනය කෙරෙහි සිදු කරන බලපෑම් 2.20 රූපයෙන් දක්වා ඇත.



2.20 රූපය - මිනිස් ක්‍රියාකාරකම් භෞතික පරිසරයට බලපා ඇති ආකාරය

එම රූප හොඳින් අධ්‍යයනය කර ශ්‍රී ලංකාවේ විවිධ භූ දර්ශන ආශ්‍රිත ව දැකිය හැකි පාරිසරික ගැටලු හඳුනාගන්න.

**ක්‍රියාකාරකම්**

1. වියළි ප්‍රදේශවල භෞතික පරිසරය මිනිසා ප්‍රයෝජනයට ගන්නා අවස්ථා කිහිපයක් සඳහන් කරන්න.
2. වන ජීවීන්ගේ වාසස්ථාන අහිමි වීම නිසා මිනිසාට ඇති වන බලපෑම් මොනවා ද?
3. මෙම ප්‍රදේශවල භෞතික පරිසරය විනාශ කරන මිනිස් ක්‍රියාකාරකම් ලැයිස්තුවක් සකස් කරන්න.

**පැවරුම**

1. විවිධ භූ දර්ශන තුළ හඳුනාගත හැකි මානුෂ ක්‍රියාකාරකම් දැක්වෙන පින්තූර ගොනුවක් සකස් කරන්න.
2. ඔබ ප්‍රදේශයේ දක්නට ඇති පාරිසරික ගැටලුවක් නම් කොට එයට මානුෂ ක්‍රියාකාරකම් හේතු වී ඇත්තේ කෙසේ දැයි පැහැදිලි කරන්න.

## ආශ්‍රිත ග්‍රන්ථ සහ මූලාශ්‍ර


- ජල අසිරිය රැකගැනීම, 2015, සරත් අමරසිරි.
- මානුෂ භූගෝල විද්‍යාව I-II (අතිරේත කියවීම් පොත) අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව.
- ශ්‍රී ලංකා මහ බැංකු වාර්ෂික වාර්තාව, 2015.
- ශ්‍රී ලංකා ජාතික සිතියම් සංග්‍රහය, පාසල් මුද්‍රණය, ශ්‍රී ලංකා මිනින්දෝරු දෙපාර්තමේන්තුව.
- සරසවි පාසල් සිතියම් පොත, සරසවි ප්‍රකාශ, ඒ. විරතුංග.


## පාරිභාෂික වචන

| | | |
|---|---|---|
| • භූ දර්ශනය | - Landscape | - நிலத்தோற்றம் |
| • භූ විෂමතාව | - Relief | - தரைத்தோற்றம் |
| • හැඩපලු ගංගාව | - Braided river | - பின்னிய ஆறு |
| • වගුරු බිම | - Marsh | - சதுப்பு நிலம் |

| | | |
|---|---|---|
| • තුඩුව | - Point | - முனை |
| • බොක්ක | - Bay | - குடா |
| • කලපුව | - Lagoon | -களப்பு |
| • කපොල්ල | - Gap | - கணவாய் |
| • අරීය ජලවහන රටාව | - Radial drainage pattern | - ஆரைவடிகால் |
| • ශාඛීය ජලවහන රටාව | - Dendritic drainage pattern | - மரநிகர் வடிகால் |
| • ජාලාකාර ජලවහන රටාව | - Trellised drainage pattern | - அளியடைப்பு வடிகால் பாங்கு |
| • උන්නතාංශය | - Elevation | - தரை உயர்ச்சி |
| • පතන ශීඝ්‍රතාව | - Lapse rate | - நழுவு வீதம் |
| • සංවහන වර්ෂාව | - Convectional rain | - மேற்காவுகை மழை |
| • මෝසම් වර්ෂාව | - Monsoon rain | - பருவக்காற்று மழை |
| • වාසුළි වර්ෂාව | - Cyclone rain | - சூறாவளி மழை |
| • ඝනීභවනය | - Condensation | - ஒடுங்கல் |
| • සදාහරිත වනාන්තර | - Evergreen forests | - என்றும் பசுமையான காடுகள் |
| • කඩොලාන | - Mangrove | - கண்டல்கள் |
| • ජන ව්‍යාප්තිය | - Population distribution | - சனத் தொகை |
| • ජන සංයුතිය | - Population composition | - சனத்தொகை சேர்க்கை |
| • පුම්තිරි අනුපාතය | - Sex ratio | - பால் வீதம் |
| • දළ උපත් අනුපාතය | - Crude birth rate | - பிறப்பு வீதம் |
| • දළ මරණ අනුපාතය | - Crude death rate | - இறப்பு வீதம் |
| • ග්‍රාමීය ජනාවාස | - Rural setllements | - கிராமக் குடியிருப்பு |
| • නාගරික ජනාවාස | - Urban setllements | - நகரக் குடியிருப்பு |
| • ගැමි නාගරික ජනාවාස | - Rurban setllements | - கிராமநகர் குடியிருப்பு |
| • යටිතල පහසුකම් | - infrastructure facilities | - உட்கட்டமைப்பு வசதிகள் |
| • ජල මූලාශ්‍ර | - water sources | - நீர் மூலாதாரம் |
| • පරිසර දූෂණය | - Environmental Pollution | - சூழல் மாசடைதல் |

# 3

# ශ්‍රී ලංකාවේ සංවර්ධනයේ අවකාශීය වෙනස්කම්



සංවර්ධනය නිරන්තර ව සිදු වන ක්‍රියාවලියකි. එය රටින් රටට ද ප්‍රදේශයෙන් ප්‍රදේශයට ද වෙනස් වේ. සංවර්ධනය මැනීමට විවිධ දර්ශක භාවිත කරනු ලබයි. එම දර්ශක හඳුනාගැනීමත් ඒ ඇසුරින් ශ්‍රී ලංකාවේ සංවර්ධනයේ අවකාශීය වෙනස්කම් සොයා බැලීමත් මෙම ඒකකයෙන් බලාපොරොත්තු වේ.

# සංවර්ධනය

සංවර්ධනය යනුවෙන් අදහස් කරන්නේ පොදුවේ මිනිසුන්ගේ ජීවිතවල සිදු වන ආර්ථික, සමාජීය හා සංස්කෘතික දියුණුව යි. මේ පිළිබඳ විවිධ නිර්වචන ඇත. සංවර්ධනය පිළිබඳ යුනෙස්කෝ ප්‍රකාශය වන්නේ,

**[1978 - යුනෙස්කෝ ප්‍රකාශය]**

**රටක ආර්ථික සංවර්ධනය මෙන් ම සමාජීය සංවර්ධනයක් ද ඇති විය යුතු ය. සමාජීය සංවර්ධනය සිදු විය යුත්තේ ආහාර, පෝෂණය, සෞඛ්‍ය, අධ්‍යාපනය, නිවාස, සමාජ සුරක්ෂිතභාවය, ඇඳුම් පැළඳුම්, විවේකය හා මානුෂික නිදහස යනාදියේ ය.**

මෙම නිර්වචනයට අනුව සංවර්ධනය යනු ආර්ථික, සමාජීය, සංස්කෘතිය වැනි විවිධ අංශවල දියුණුව සමගින් රටක ජනතාවට වඩා හොඳ ජීවන තත්වයක් ලබා දීම යයි සඳහන් කළ හැකි ය. සංවර්ධනය යනුවෙන් අදහස් කරන දේ කාලයෙන් කාලයට වෙනස් වේ. සංවර්ධනය ප්‍රදේශයෙන් ප්‍රදේශයට ද රටින් රටට ද වෙනස් වේ. ශ්‍රී ලංකාව තුළ ද මෙවැනි වෙනස්කම් දක්නට ලැබේ. මෙම වෙනස්කම් පිළිබිඹු කරන දර්ශක රාශියකි.

## සංවර්ධන දර්ශක

ලෝකයේ රටවල් සංවර්ධනය දැක්වීම සඳහා විවිධ දර්ශක යොදා ගනී. ඒවා අතර පහත සඳහන් දර්ශක වැදගත් වේ.

01. ඒක ශීර්ෂ ආදායම

02. ළදරු මරණ අනුපාතය

03. උපතේ දී ආයු අපේක්ෂාව

04. සාක්ෂරතාව

මෙම දර්ශක මගින් රටක ජනතාවගේ ජීවන තත්වය හා එය ප්‍රදේශයෙන් ප්‍රදේශයට වෙනස් වන ආකාරය ද පැහැදිලි කරගත හැකි වේ. එම ප්‍රාදේශීය වෙනස්කම් අවකාශීය වෙනස්කම් ලෙස හැඳින්විය හැකි ය.

### ඒක ශීර්ෂ ආදායම

කිසියම් රටක නිශ්චිත කාල සීමාවක් තුළ ජාතික ආදායමෙන් එක් පුද්ගලයකුට අයත් වන කොටස ඒක ශීර්ෂ ආදායම යි.

මෙය ගණනය කරනු ලබන්නේ පහත සඳහන් ආකාරයෙනි.

$$\text{ඒක ශීර්ෂ ආදායම} = \frac{\text{වර්ෂයක රටක මුළු ආදායම}}{\text{මධ්‍ය වාර්ෂික ජන සංඛ්‍යාව}}$$

මෙම දර්ශකය මගින් රට තුළ සිටින එක් පුද්ගලයෙකු ලබන ආදායම ගණනය කළ හැකි ය. රටක ඒක ශීර්ෂ ආදායම ඉහළ යයි නම් පුද්ගලයකුට වඩා හොඳ ජීවන තත්වයක් භුක්ති විඳිය හැකි ය.

## ළදරු මරණ අනුපාතය

කිසියම් වර්ෂයක් තුළ වයස අවුරුදු එක සම්පූර්ණ වීමට පෙර මිය යන ළදරුවන් සංඛ්‍යාව, එම වර්ෂයේ සජීවී උපත් 1000ට අනුපාතයක් සේ දැක්වීම ළදරු මරණ අනුපාතය යි. ළදරු මරණ අනුපාතය අනුව රටෙහි සෞඛ්‍ය පහසුකම්වල තත්වය, වෛද්‍ය සේවාවන්ගේ තත්වය, ආහාර හා පෝෂණ මට්ටම ආදිය පිළිබඳ අවබෝධයක් ලබාගත හැකි ය.

## උපතේ දී ආයු අපේක්ෂාව

ආයු අපේක්ෂාව යනු පුද්ගලයකු උපත ලබන විට ඔහුට හෝ ඇයට ඉදිරියට ජීවත් විය හැකි කාලය කොපමණ දැයි සාමාන්‍යකරණය කර දැක්වීම ය. මෙම දර්ශකය මගින් රටේ සෞඛ්‍ය පහසුකම්වල තත්වය සහ ව්‍යාප්තිය, ආහාර හා පෝෂණ මට්ටම, යහපත් සෞඛ්‍ය පුරුදු, ක්‍රීඩා හා විවේකය ගත කිරීමේ පහසුකම්වල ව්‍යාප්ත වීම ආදිය පිළිබඳ අවබෝධයක් ලබාගත හැකි ය.

## සාක්ෂරතාව

කිසියම් රටක ජන සංඛ්‍යාවේ වයස අවුරුදු 15ට ඉහළ පුද්ගලයන්ගේ අකුරු කියවීමට හා ලිවීමට ඇති හැකියාව සාක්ෂරතාව ලෙස හඳුන්වයි. මෙය ගණනය කරනු ලබන්නේ වයස අවුරුදු 15ට ඉහළ මුළු ජන සංඛ්‍යාවේ ප්‍රතිශතයක් ලෙසිනි.

$$\text{සාක්ෂරතාව} = \frac{\text{වයස අවුරුදු 15ට ඉහළ අකුරු කියවීමට හා ලිවීමට හැකි පුද්ගලයන් සංඛ්‍යාව}}{\text{වයස අවුරුදු 15ට ඉහළ මුළු ජන සංඛ්‍යාව}} \times 100$$

මෙම දර්ශකය මගින් පාසල් පහසුකම්වල ව්‍යාප්තිය, අධ්‍යාපනය, දිළිඳුකම ආදිය පිළිබඳ ව අදහසක් ලබා ගත හැකි ය.

## ශ්‍රී ලංකාවේ සංවර්ධනයේ අවකාශීය වෙනස්කම්

ශ්‍රී ලංකාව සංවර්ධනය වෙමින් පවතින රටකි. එසේ ම ප්‍රාදේශීය වශයෙන් ද එම සංවර්ධන මට්ටම්වල වෙනස්කම් දක්නට ලැබේ. මෙම වෙනස්කම් පිළිබඳ ව එක් එක් දර්ශක අනුව සොයා බලමු.

ශ්‍රී ලංකාව තුළ ප්‍රාදේශීය වශයෙන් ආදායම් විෂමතාව තේරුම් ගැනීමට කුටුම්භ ආදායම භාවිත කළ හැකි ය. 2009 වර්ෂයේ දී ශ්‍රී ලංකාවේ කුටුම්භයක මාසික ආදායම රුපියල් 36,451ක් පමණ වේ. එහෙත් මේ තත්වය ලංකාව තුළ ප්‍රාදේශීය ව වෙනස් වන බව 3.1 වගුවෙන් පැහැදිලි වේ.

**3.1 වගුව - ශ්‍රී ලංකාවේ දිස්ත්‍රික්ක අනුව මාසික කුටුම්භ ආදායම - 2009**

| දිස්ත්‍රික්කය | මාසික කුටුම්භ ආදායම (රුපියල්) | දිස්ත්‍රික්කය | මාසික කුටුම්භ ආදායම (රුපියල්) |
|---|---|---|---|
| කොළඹ | 51,070 | කිලිනොච්චිය | දත්ත ලැබී නැත |
| ගම්පහ | 48,870 | මඩකලපුව | 22,844 |
| කළුතර | 35,780 | අම්පාර | 24,721 |
| මහනුවර | 33,063 | ත්‍රිකුණාමලය | 24,291 |
| මාතලේ | 30,013 | කුරුණෑගල | 36,922 |
| නුවරඑළිය | 31,029 | පුත්තලම | 32,918 |
| ගාල්ල | 31,376 | අනුරාධපුරය | 37,586 |
| මාතර | 30,980 | පොළොන්නරුව | 31,526 |
| හම්බන්තොට | 36,879 | බදුල්ල | 32,313 |
| යාපනය | 18,917 | මොනරාගල | 22,161 |
| මන්නාරම | දත්ත ලැබී නැත | රත්නපුර | 41,312 |
| වව්නියාව | 39,640 | කෑගල්ල | 29,342 |
| මුලතිව් | දත්ත ලැබී නැත | | |

**මූලාශ්‍රය :** *Sri Lanka Human Development Report 2012*

කුටුම්භ ආදායම දිස්ත්‍රික්ක අනුව වෙනස් වන ආකාරය මෙමගින් පැහැදිලි වේ.

ලෝක බැංකු වාර්තා අනුව 2015 වන විට ශ්‍රී ලංකාවේ ළදරු මරණ අනුපාතය 8.4%කි. එසේ වුව ද මෙහි ප්‍රාදේශීය වෙනස්කම් දක්නට ලැබේ. 2010 වර්ෂයේ දී දිස්ත්‍රික්ක අනුව ශ්‍රී ලංකාවේ ළදරු මරණ අනුපාතය ව්‍යාප්ත ව තිබූ ආකාරය 3.2 වගුවෙන් පෙන්නුම් කෙරේ.

**3.2 වගුව - ශ්‍රී ලංකාවේ දිස්ත්‍රික්ක අනුව ළදරු මරණ අනුපාතය - 2007**

| දිස්ත්‍රික්කය | ළදරු මරණ අනුපාතය 2010 | දිස්ත්‍රික්කය | ළදරු මරණ අනුපාතය 2010 |
|---|---|---|---|
| කොළඹ | 14.1 | මුලතිව් | දත්ත ලැබී නැත |
| ගම්පහ | 02.7 | මඩකලපුව | 25.1 |
| කළුතර | 03.3 | අම්පාර | 04.5 |
| මහනුවර | 11.1 | ත්‍රිකුණාමලය | 02.5 |
| මාතලේ | 07.2 | කුරුණෑගල | 09.7 |
| නුවරඑළිය | 14.8 | පුත්තලම | 07.0 |
| ගාල්ල | 09.9 | අනුරාධපුරය | 10.3 |
| මාතර | 09.4 | පොළොන්නරුව | 04.6 |
| හම්බන්තොට | 04.3 | බදුල්ල | 06.2 |
| යාපනය | 03.0 | මොනරාගල | 03.6 |
| කිලිනොච්චිය | 00.9 | රත්නපුරය | 05.7 |
| මන්නාරම | 03.5 | කෑගල්ල | 05.7 |
| වව්නියාව | 08.6 | | |

**මූලාශ්‍රය :** ***Sri Lanka Human Development Report 2012***

උපතේ දී ආයු අපේක්ෂාවේ ද ප්‍රාදේශීය වශයෙන් වෙනස්කම් ඇත. ශ්‍රී ලංකාවේ සමස්ත ජන සංඛ්‍යාවේ ආයු අපේක්ෂාවේ අගය 74.2%ක් පමණ වේ. මෙය ස්ත්‍රී පුරුෂ වශයෙන් වෙනස් වේ. ස්ත්‍රී ආයු අපේක්ෂාව 78.6ක් වන විට පුරුෂයන්ගේ ආයු අපේක්ෂාව 72ක් වේ. එක් එක් දිස්ත්‍රික්ක අනුව බැලීමේ දී ද මේ වෙනස්කම් මැනවින් පැහැදිලි වේ.

**3.3 වගුව - ශ්‍රී ලංකාවේ උපතේ දී ආයු අපේක්ෂාව දිස්ත්‍රික්ක අනුව - 2002**

| දිස්ත්‍රික්කය | පුරුෂ | ස්ත්‍රී | දිස්ත්‍රික්කය | පුරුෂ | ස්ත්‍රී |
|---|---|---|---|---|---|
| කොළඹ | 61.9 | 71.9 | බදුල්ල | 68.9 | 75.4 |
| ගම්පහ | 71.5 | 80.4 | කෑගල්ල | 72.5 | 80 |
| කළුතර | 72.7 | 80.2 | කිලිනොච්චිය | ද.ලැබී නැත | ද.ලැබී නැත |
| මහනුවර | 67.3 | 75 | මඩකලපුව | 66.8 | 73.8 |
| මාතලේ | 70.7 | 77.5 | අම්පාර | 70.3 | 75.9 |
| නුවරඑළිය | 70.8 | 74.7 | ත්‍රිකුණාමලය | 68.5 | 74.2 |
| ගාල්ල | 70.5 | 78.4 | කුරුණෑගල | 68.9 | 78 |
| මාතර | 73.5 | 80.4 | පුත්තලම | 69.1 | 78.9 |
| හම්බන්තොට | 76.9 | 82.3 | අනුරාධපුරය | 66.5 | 76.1 |
| යාපනය | ද.ලැබී නැත | ද.ලැබී නැත | පොළොන්නරුව | 68.9 | 77.6 |
| මන්නාරම | ද.ලැබී නැත | ද.ලැබී නැත | මොනරාගල | 75.2 | 80.5 |
| වව්නියාව | ද.ලැබී නැත | ද.ලැබී නැත | රත්නපුර | 72 | 78.4 |
| මුලතිව් | ද.ලැබී නැත | ද.ලැබී නැත | | | |

**මූලාශ්‍රය :** ***Sri Lanka Human Development Report 2012***

ශ්‍රී ලංකාවේ සාක්ෂරතා දර්ශක අනුව ප්‍රාදේශීය ව වෙනස්කම් පවතින බව පැහැදිලි වේ. ශ්‍රී ලංකාව දකුණු ආසියාතික රටවල් අතර ඉහළ සාක්ෂරතා අනුපාතයක් වාර්තා කළ ද දිස්ත්‍රික්ක අනුව වෙනස්කම් පවතී. ( 3.1 ප්‍රස්තාරය)




**3.1 ප්‍රස්තාරය - දිස්ත්‍රික්ක අනුව සාක්ෂරතා අනුපාතය, 2012**

ශ්‍රී ලංකාවේ නාගරික, ග්‍රාමීය සහ වතු යන අංශ අනුව ද සාක්ෂරතාවේ වෙනස්කම් පවතී.

නාගරික - 94.6%

ග්‍රාමීය - 91.8%

වතු - 74.3%

මින් පැහැදිලි වන්නේ පහසුකම් වැඩි නාගරික ප්‍රදේශවල සාක්ෂරතා අනුපාතය වැඩි බව යි.

**ක්‍රියාකාරකම්**

1. සංවර්ධනය යනු කුමක් දැයි කෙටියෙන් පැහැදිලි කරන්න.
2. සංවර්ධන මට්ටම දැක්වීම සඳහා භාවිත කරන දර්ශක හතරක් නම් කරන්න.
3. ඒක ශීර්ෂ ආදායම, ළදරු මරණ අනුපාතය හා සාක්ෂරතාව වැඩි වීම හා අඩු වීම රටක සංවර්ධන තත්වය කෙරෙහි බලපාන්නේ කෙසේ දැයි කෙටියෙන් පැහැදිලි කරන්න.

## ආශ්‍රිත ග්‍රන්ථ සහ මූලාශ්‍ර


- මානුෂ භූගෝල විද්‍යාව I - II අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව.
- ශ්‍රී ලංකා මහ බැංකු වාර්ෂික වාර්තාව, 2015
- ජල අසිරිය රැකගැනීම, 2015, සරත් අමරසිරි.
- Household Income and Expenditure Survey 2012/2013-Final Report, Depatment of Census and Statistics
- Sri Lanka Human Development Report -2012

## පාරිභාෂික වචන

| | | |
|---|---|---|
| • සංවර්ධන දර්ශක | - Development indices | - அபிவிருத்திச் சுட்டிகள் |
| • ඒක ශීර්ෂ ආදායම | - Per capita income | - ஆள்வீத வருமானம் |
| • ළදරු මරණ අනුපාතය | - Infant mortality rate | - சிசுமரண வீதம் |
| • උපතේ දී ආයු අපේක්ෂාව | - Life expectancy at birth | - பிறப்பில் ஆயுள் எதிர்பார்ப்பு |
| • සාක්ෂරතාව | - Literacy | - எழுத்தறிவு |
| • සංවර්ධනයේ අවකාශීය වෙනස්කම් | - Spatial variations in development | - அபிவிருத்தியில் இடம்சார் வேறுபாடுகள் |



# 4
# පාරිසරික තුලිතතාව

පාරිසරික තුලිතතාව පවත්වා ගැනීමේ වැදගත්කම, පාරිසරික අසංතුලනය නිසා ඇති වන අහිතකර ප්‍රතිවිපාක, පරිසර ආචාර ධර්ම තිරසාර සංවර්ධනයට මගපෑදෙන ආකාරය පිළිබඳ ව අධ්‍යයනය කිරීම මෙම ඒකකයේ අරමුණ වේ.

# පාරිසරික තුලිතතාව

ජීවී සහ අජීවී සංරචකයන්ගෙන් නිර්මාණය වී ඇති වටපිටාව පරිසරය යි. මෙම පරිසරයේ ශාක සහ සත්වයන් ජීවී කොටසට ද සූර්ය ශක්තිය, වාතය, ජලය, පස, භූ රූප සහ පාෂාණ අජීවී කොටසට ද අයත් වේ. පරිසර පද්ධතියේ මෙම ජීවී සංරචක අජීවී සංරචක සමග අන්‍යෝන්‍ය සම්බන්ධකම් පවත්වයි. මෙම සම්බන්ධතාව මත පරිසර තුලිතතාව රැඳී පවතී.

## පාරිසරික තුලිතතාව පවත්වා ගැනීමේ වැදගත්කම

පෘථිවියේ වෙසෙන සියලු ම ශාක සහ සත්වයන් ජෛව ප්‍රජාව ලෙස පොදුවේ හැඳින්වේ. මෙම ජෛව ප්‍රජාව වෙසෙන පරිසරය ස්වාභාවික ව සිදු වන වෙනස්වීම්වලට ප්‍රතික්‍රියා දක්වමින් පරිසරයේ ගුණාංග ආරක්ෂා කරමින් පවත්වාගෙන යාම පාරිසරික තුලිතතාව යි.

ශාක සහ සත්වයන් එකිනෙකා අතර අන්තර් ක්‍රියා ඇති වේ. එමෙන් ම එම ජීවීන් භෞතික පරිසරය සමග ද සබඳතා පවත්වනු ලැබේ. මිනිසා ද පරිසරයේ අත්‍යවශ්‍ය අංගයක් ලෙස පරිසර විද්‍යාඥයෝ සලකති. ජීවීන්ගේ ක්‍රියාකාරකම් කෙරෙහි පරිසර සාධක බෙහෙවින් බලපවත්වන්නා සේ ම ජීවීන්ගේ ක්‍රියාකාරකම් ද පරිසරයට බලපෑම් ඇති කරවයි. මෙම අන්‍යෝන්‍ය බලපෑම තුලිත ව පවත්වා ගැනීම ජීවීන්ගේ පැවැත්ම සඳහා ඉතා වැදගත් වේ.

### පාරිසරික තුලිතතාව බිඳවැටීමට බලපාන සාධක

මිනිසා ඇතුළු සියලු ම ජීවීන්ගේ (ශාක සහ සත්වයන්) මූලික අවශ්‍යතා සපුරා ගන්නේ භෞතික පරිසරයෙනි. පරිසරය එකිනෙකට සම්බන්ධිත සංරචකයන්ගෙන් සෑදී ඇත. එක් සංරචකයක සිදු වන වෙනස්වීමක් සමස්ත පරිසරයේ ම වෙනස් වීමට හේතු වේ.

- ආහාර, ඇඳුම් පැළඳුම් සහ නිවාස යන මූලික අවශ්‍යතා ඉටු කර ගැනීමට
- ගමනාගමනයට සහ පණිවුඩ හුවමාරුවට
- වෙළෙඳාමට

මිනිසා භෞතික පරිසරය විවිධාකාර ලෙස පරිහරණය කරයි.

ජන සංඛ්‍යාව වැඩි වන විට මෙම අවශ්‍යතාවන් වැඩි වීම මෙන් ම ඒවායේ සංකීර්ණත්වය වැඩි වීම ද සිදු වේ. ඒ නිසා නව තාක්ෂණය භාවිතය, නිෂ්පාදන ධාරිතාව ඉහළ නැංවීම යනාදි ක්‍රියාවන් නිසා පරිසරය අභිභවා අධිවේගී ගමනක් යාමට මිනිසාට සිදු ව තිබේ.

සාම්ප්‍රදායික කෘෂිකර්මය මිනිසාගේ ප්‍රධාන ආර්ථික ක්‍රියාකාරකම් ලෙස පැවති අවධියේ දී පරිසරයට සිදු වූ බලපෑම අවම විය. කාර්මික විප්ලවයෙන් පසු අවධියේ දී මිනිසා විසින් පරිසරයට එල්ල කළ බලපෑම ඉතා ප්‍රබල විය. නව තාක්ෂණය සමග

වේගයෙන් ප්‍රසාරණය වූ කෘෂිකර්මාන්තය සහ කර්මාන්ත නිසා ඇති වූ ගැටලුවලින් පරිසර තුලිතතාවට සිදු වූ හානිය විශාල ය. පරිසරයේ මූලික සංරචක කෙරෙහි අහිතකර ලෙස බලපෑම් ඇති කිරීමත් සීමාව ඉක්මවා පරිසරයට අපද්‍රව්‍ය එකතු කිරීමත් නිසා පරිසරයේ තුලිතතාව බිඳවැටෙන්නට විය. මෙසේ පරිසරයේ තුලිතතාව බිඳවැටීම පාරිසරික අසංතුලනය ලෙස හැඳින්වේ.

**පාරිසරික අසංතුලනයට බලපාන හේතු**

- සම්පත් අධිපරිභෝජනය
- අවිධිමත් සංවර්ධන ක්‍රියාවලි
- අධික ඉන්ධන දහනය
- කෘෂි රසායන භාවිතය
- වන විනාශය
- පහත් බිම් ගොඩ කිරීම
- අවිධිමත් භූමි පරිහරණය
- අයෝග්‍ය තාක්ෂණය භාවිත කිරීම



**5.1 රූපය - පාරිසරික අසංතුලනයට බලපාන හේතු**

රටක සංවර්ධනය ඉලක්ක කරගනිමින් සිදු කෙරෙන මෙවැනි ක්‍රියාවලීන් නිසා පරිසර තුලිතතාවට හානි පැමිණ ඇති බව පැහැදිලි ය. සංවර්ධනය අත්‍යවශ්‍ය වුව ද එය පරිසර හානි අවම කර පරිසර තුලිතතාව ආරක්ෂා කෙරෙන අයුරින් ළඟා කර ගත යුතු ය.

## ක්‍රියාකාරකම්

1. පාරිසරික අසංතුලනයට බලපාන මිනිස් ක්‍රියාකාරකම් තුනක් සඳහන් කරන්න.
2. ඔබ ජීවත් වන දිස්ත්‍රික්කයට/ පළාතට අයත් කුමන හෝ ප්‍රදේශයකට එවැනි මිනිස් ක්‍රියාකාරකම් නිසා ඇති වී තිබෙන ගැටලු තුනක් දක්වන්න.

### පාරිසරික තුලිතතාව බිඳවැටීමේ අහිතකර ප්‍රතිඵල

පාරිසරික තුලිතතාව බිඳවැටීම නිසා ඇති වන අහිතකර ප්‍රතිඵල සමස්ථ පෘථිවියේ පරිසර පද්ධතියට ම බලපායි. මිනිස් ඉතිහාසයේ පෙර නොවූ විරූ ආකාරයට පෘථිවි පරිසරය වර්තමානයේ දැඩි අර්බුදකාරී තත්වයකට මුහුණ පා තිබේ. වත්මන් පරිසර හානිය දිගට ම පැවතියහොත් තවත් වසර 200ක පමණ කාලයක් වන විට පෘථිවිය මිනිසා ඇතුළු ජීවීන්ගේ වාසයට නුසුදුසු තත්වයකට පත් විය හැකි බවට විද්‍යාඥයන් හා පරිසරවේදීන් විසින් අනතුරු අඟවා තිබේ.



**5.2 රූපය - පාරිසරික තුලිතතාව බිඳවැටීමේ අහිතකර ප්‍රතිඵල**

මෙම පාරිසරික ගැටලු බොහෝමයකට මූලික හේතුව වී ඇත්තේ මානුෂ ක්‍රියාකාරකම් ය. ලෝකයේ සියලු රටවල් එකතු වී මෙම පොදු ගැටලුවලට විසඳුම් සෙවිය යුතු ය.

**පරිසරයට අහිතකර මානුෂ ක්‍රියාකාරකම් හා එහි බලපෑම්**

01. වනාන්තර විනාශ කිරීම

- වෘක්ෂලතා සහ වන ජීවීන් විනාශ වීම
- ජල මූලාශ්‍ර විනාශ වීම

02. කෘෂි රසායන භාවිතය

- පාංශු හා ජල ජීවීන් විනාශ වීම
- ජලය අපවිත්‍ර වීම

03. බලශක්තිය සඳහා පොසිල ඉන්ධන භාවිත කිරීම

- වායු දූෂණය
- පරිසර උෂ්ණත්වය ඉහළ යාම

04. අක්‍රමවත් නාගරීකරණය

- පරිසරයට අපද්‍රව්‍ය එකතු වීම
- ජල මාර්ග අවහිර වීම

05. කැලිකසළ අවිධිමත් ලෙස ඉවත දැමීම

- පාරිසරික සෞඛ්‍ය ගැටලු ඇති වීම
- පාරිසරික සෞන්දර්ය විනාශ වීම

06. යුධ අවි අත්හදා බැලීම

- වායුගෝලය දූෂණය වීම
- සාගර ජල දූෂණය

**පැවරුම**

1. ලෝක පාරිසරික තුලිතතාව බිඳ වැටීමේ මෑත කාලීන සිදුවීම් ඇසුරෙන් පහත සඳහන් මාතෘකා යටතේ වාර්තාවක් පිළියෙල කරන්න.

- සිදුවීම
- රට
- දිනය
- බලපෑම

## පරිසර ආචාර ධර්මවල අවශ්‍යතාව

**පරිසරය යහපත් ව පවත්වාගෙන යාම සඳහා අවශ්‍ය වන සාරවත් යහපුරුදු පරිසර ආචාර ධර්ම ලෙස හැඳින්වේ.**

ආචාර ධර්ම පුද්ගල චර්යාව හා බැඳී පවතී. එය ඔවුන් ජීවත් වන ජන සමාජය තුළ පිළිපදින නීති රීති, චාරිත්‍ර වාරිත්‍ර හා සම්මතයන්ට අනුගත වූ ඒවා ය. මිනිසා පරිසරය සමග ගනුදෙනු කිරීමට පටන් ගත් අවධියේ සිට ම පරිසරය පිළිබඳ ව විමසිලිමත් ව කටයුතු කර තිබේ. තමන්ට ජීවත් වීමට සුදුසු වටපිටාවක් සකසා දී ඇති ස්වාභාවික පරිසරයට, ස්වාභාවික වස්තූන්ට, බැතිමත් ව හා ගෞරවයෙන් සැලකීමට ඔවුහු එදා පුරුදු වී සිටියහ. එකල මිනිසාට පරිසරය පිළිබඳ දැනුම හා අවබෝධයක් ලැබී ඇත්තේ ඇදහිලි, විශ්වාස හා ආගම් මත පදනම් වී කටයුතු කළ බැවිනි. ගස් වැල්වලට සැලකීම, ආරක්ෂා කිරීම හා පුද පූජා පැවැත්වීම, වනාන්තරයට ඇතුළු වන විට වනයට අධිපති දෙවිවරුන්ගෙන් ආරක්ෂාව පැතීම ආදි විශ්වාස හා ඇදහීම් ආගමික ජීවිතය හා සමාජ ජීවිතය සමග බැඳී පවතී.

මිනිසා ඈත අතීතයේ සිට ම පරිසරය තම ජීවිතය පවත්වාගෙන යාමට අවශ්‍ය දෙයක් බව සිතූ අතර ඒ නිසා පරිසරය ආරක්ෂා කරන්නටත් එයට වන්දනාමාන කරන්නටත් විය.

එසේ ම මිනිසා පරිසරය සමග සහජීවනයෙන් කටයුතු කළ අතර එය ආරක්ෂා කරන්නට විය. පරිසර සංරක්ෂණ උපාය මාර්ග ලෙස පරිසර ආචාර ධර්මවල අවශ්‍යතාව හඳුනාගැනීම තිරසර සංවර්ධනය කරා යන ගමනේ දී වැදගත් වේ. පාරිසරික තුලිතතාව පවත්වා ගැනීමට නම් පරිසර ආචාර ධර්ම මගින් කියවෙන පරිසර සංරක්ෂණ උපාය මාර්ගවලට අප අනුගත විය යුතු ය. සෑම ආගමක ම පරිසරය ආරක්ෂා කිරීමේ වැදගත්කම ඉස්මතු කර තිබේ.

## තිරසර සංවර්ධනය

වර්තමාන අවශ්‍යතා සපුරා ගනිමින් අනාගත පරපුරට ද ස්වකීය අවශ්‍යතා ඉටු කර ගැනීමට ඇති අයිතිය තහවුරු කරන පරිසරයක් ගොඩනගමින් සිදු කෙරෙන සංවර්ධනය තිරසර සංවර්ධනය ලෙස හැඳින්විය හැකි ය.

සංවර්ධන සැලසුම් සකස් කිරීමේ දී තිරසර සංවර්ධන ප්‍රවේශයක අවශ්‍යතාව බෙහෙවින් වැදගත් වෙමින් පවතී. එමෙන් ම එවැනි ප්‍රවේශයක දී පරිසර ආචාර ධර්මවලට දැඩි අවධානයක් යොමු කළ යුතු ය. තිරසර සංවර්ධනයේ දී පරිසරය සහ සංවර්ධනය

එකිනෙක හා සුසංයෝගී ව පවත්වාගෙන යා යුතු බව වර්තමාන සංවර්ධන ගැටලුවලින් සනාථ වී ඇත. එහි දී අනාගත පරපුරේ අවශ්‍යතා සපුරා ගැනීමට ඇති හැකියාව පිළිබඳ ව ද අවධානය යොමු විය යුතු ය.

එහෙත් වර්තමානයේ මහා පරිමාණයෙන් ක්‍රියාත්මක කරනු ලබන සංවර්ධන ව්‍යාපෘතිවල දී පරිසරය කෙරෙහි ප්‍රමාණවත් අවධානයක් යොමු නොකිරීම නිසා පාරිසරික තුලිතතාව බිඳවැටීමේ තර්ජනයකට මුහුණ දීමට සිදු වී තිබේ.

පාරිසරික තුලිතතාව ආරක්ෂා කිරීමට ජාතික මෙන් ම ජාත්‍යන්තර මට්ටමේ නොයෙකුත් ක්‍රියාමාර්ග ගෙන ඇත.

ජාතික සංරක්ෂණ සැලැස්ම යටතේ,

- ඉඩම් භාවිතය සැලසුම් කිරීම
- වන ජීවීන් සහ වන සංරක්ෂණය
- වනාන්තරවලට, ජලයට හා පසට හානි නොවන ලෙස කෘෂිකර්මාන්ත සංවර්ධනය
- වෙරළ සංරක්ෂණය
- පරිසර ආධ්‍යාපනික වැඩසටහන් මෙහෙයවීම
- මධ්‍යම පරිසර අධිකාරිය පිහිටුවීම
- පරිසර අමාත්‍යාංශය පිහිටුවීම ආදිය දැක්විය හැකි ය.

ශ්‍රී ලංකාව තුළ පරිසර තුලිතතාව සුරැකීමට පනත් දෙකක් සම්මත කරගෙන ඇත.

- වෙරළ සංරක්ෂණ පනත
- ජාතික උරුම වන භූමි පනත

ජාත්‍යන්තර මට්ටමෙන් ගෙන ඇති ක්‍රියාමාර්ග

- තෙත් බිම් සංරක්ෂණය පිළිබඳ රැම්සාර් සම්මුතිය
- ඕසෝන් ස්තරය ආරක්ෂා කිරීම අරමුණු කොටගත් මොන්ට්‍රියල් සම්මුතිය

මෙම තත්වය යටතේ සම්පත් පරිහරණය කළ යුත්තේ කුමන පදනමක් යටතේ ද යන කරුණු පිළිබඳ ව මග පෙන්වීම තිරසර සංවර්ධන සංකල්පයෙන් පැහැදිලි වේ. ඒ අනුව වර්තමාන පරපුරේ අවශ්‍යතා සපුරාලන අතර ම අනාගත පරපුරේ අවශ්‍යතාවන් සඳහා ද පරිසරය සුරක්ෂිත කිරීම කළ යුතු ය.

**ක්‍රියාකාරකම**

විවිධ ආගම්වල ඇතුළත් පරිසර ආචාර ධර්ම කිහිපයක් සඳහන් කරන්න.

**පැවරුම**

පාරිසරික තුලිතතාව බිඳවැටීමෙන් ලැබෙන අහිතකර ප්‍රතිඵල අවම කරගැනීම සඳහා පාසල් ශිෂ්‍යයකු/ ශිෂ්‍යාවක ලෙස ඔබට ක්‍රියා කළ හැකි ආකාරය පැහැදිලි කරන්න.

## ආශ්‍රිත ග්‍රන්ථ සහ මූලාශ්‍ර

- මිහිතලයේ භෞතික පරිසරය, එච්. කේ. එන්. කරුණාරත්න.
- භෞතික භූගෝල විද්‍යාව I කොටස(අතිරේක කියවීම්), අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

## පාරිභාෂික වචන

| | | |
|---|---|---|
| • පාරිසරික තුලිතතාව | - Environmental balance | - சூழலியல் சமநிலை |
| • පරිසර පද්ධතිය | - Environmental system | - சூழல்தொகுதி |
| • සංරචක | - Component | - கூறுகள் |
| • ජෛව පද්ධතිය | - Bio system | - உயிரியல் தொகுதி |
| • නව තාක්ෂණය | - Modern technology | - நவீன தொழினுட்பம் |
| • නිෂ්පාදන ධාරිතාව | - Production capacity | - உற்பத்தி இயலளவு |
| • පාරිසරික අසංතුලනය | - Environmental imbalance | - சூழல் சமமின்மை |
| • පොසිල ඉන්ධන | - Fossil fuels | - சுவட்டு எரிபொருள் |
| • පරිසර ආචාර ධර්ම | - Environmental ethics | - சூழல் ஒழுக்கநெறிகள் |
| • තිරසර සංවර්ධනය | - Sustainable development | - பேண்தகு அபிவிருத்தி |
| • නාගරීකරණය | - urbanization | - நகராக்கம் |
| • මධ්‍යම පරිසර අධිකාරිය | - Central Environmental Authority | - மத்திய சுற்றாடல் அதிகார சபை |
| • වෙරළ සංරක්ෂණ පනත | - Coast Conservation Act | - கரையோர பாதுகாப்பு சட்டம் |
| • ජාතික උරුම | - National heritages | - தேசிய மரபுரிமைகள் |



# 5

# ශ්‍රී ලංකා 1:50,000 භූ ලක්ෂණ සිතියම් කියවීම

භූ දර්ශනයක ඇතුළත් භෞතික ලක්ෂණ හා මානුෂ හෙවත් සංස්කෘතික ලක්ෂණ සිතියම් මගින් ඉදිරිපත් කෙරේ. ශ්‍රී ලංකාවේ භූ ලක්ෂණ සිතියම්වලින් නිරූපණය කෙරෙන භෞතික හා සංස්කෘතික ලක්ෂණ අධ්‍යයනය කිරීම මෙම ඒකකයෙන් බලාපොරොත්තු වේ.

## ශ්‍රී ලංකා 1:50, 000 භූ ලක්ෂණ සිතියම්

භූ ලක්ෂණ සිතියමක පරිමාණය, විශාලත්වය මෙන් ම තෝරාගත් භෞතික හා සංස්කෘතික ලක්ෂණ කිහිපයක් පිළිබඳ ව ඔබ 8 වන ශ්‍රේණියේ දී අධ්‍යයනය කර ඇත. ශ්‍රී ලංකාවේ භූ ලක්ෂණ දැක්වීම සඳහා 1:50, 000 පරිමාණයෙන් සිතියම් පත්‍ර 92ක් සකස් කර තිබේ. එම භූ ලක්ෂණ සිතියම්වල අන්තර්ගත භෞතික හා සංස්කෘතික ලක්ෂණ කියවීමට ඒවායේ වටතීරුවේ පහළ කොටසේ ඇති සම්මත ලකුණු හා සංකේත ඇතුළත් සූචකය භාවිත කිරීමට පුළුවන. පාසලේ ඇති 1:50, 000 භූ ලක්ෂණ සිතියම් පත්‍රයක් භාවිත කොට වටතීරුවේ සඳහන් වන සම්මත ලකුණු හා සංකේත හඳුනාගන්න.

1:50, 000 භූ ලක්ෂණ සිතියම්වල භූ විෂමතා ලක්ෂණ සමෝච්ච රේඛා මගින් දක්වා ඇති බව ඔබ මේ වන විට අධ්‍යයනය කර ඇත. සමෝච්ච රේඛා විහිදී ඇති ආකාරය තේරුම් ගැනීමෙන් භූ රූප පහසුවෙන් හඳුනාගත හැකි වේ.

මිනිසාගේ මැදිහත් වීමෙන් භෞතික පරිසරය මත ගොඩනගා ඇති සියලු දේ සංස්කෘතික ලක්ෂණ වශයෙන් හැඳින්වේ.




**5.1 සිතියම - 1:50 000 භූ ලක්ෂණ සිතියමක කොටසක්**



5.1 රූපය - 1:50 000 භූ ලක්ෂණ සිතියමක සම්මත සලකුණු දක්වන සටහන

**ශ්‍රී ලංකාවේ 1:50 000 භූ ලක්ෂණ සිතියම් පත්‍රයක කොටසක් අධ්‍යයනය කිරීමෙන් සිතියමෙහි නිරූපිත භෞතික හා සංස්කෘතික ලක්ෂණ හඳුනාගනිමු.**

**ක්‍රියාකාරකම**

01. 5.1 රූපයෙහි දැක්වෙන සූචකය හොඳින් අධ්‍යයනය කරන්න.

02. 5.1 සිතියම හොඳින් නිරීක්ෂණය කොට සිතියමෙහි 1 සිට 20 දක්වා අංකවලින් දැක්වෙන භෞතික හා සංස්කෘතික ලක්ෂණ වෙන් වෙන් වශයෙන් අංක අනුව නම් කරන්න.

03. එම ලක්ෂණ සම්මත වර්ණ හා සංකේත මගින් ඇඳ දක්වන්න.

## භෞතික ලක්ෂණ

1:50 000 භූ ලක්ෂණ සිතියමක දැක්වෙන තෝරාගත් භෞතික ලක්ෂණ කිහිපයක් පහත දැක්වේ.

- තැනිතලාව
- උස්බිම
- ප්‍රධාන ගංගාව
- අතු ගංගාව
- ගංගා නිම්නය
- දූපත
- තුඩුව
- මුහුදු බොක්ක

**තැනිතලාව -** තැනිතලාවක් යනු භූමියේ පිහිටි සමතලා ප්‍රදේශයකි. සිතියමක සමෝච්ච රේඛා අතර පරතරය පුළුල් වීම මගින් තැනිතලා බිමක් හඳුනාගත හැකි ය. තැනිතලා ප්‍රදේශයක වුව ද තැනින් තැන පිහිටි කුඩා උස් තැන් ද ඇත. මෙවැනි ප්‍රදේශ සිතියමේ දක්වා ඇති ස්ථානීය උස ආධාරයෙන් හඳුනා ගැනීමට පුළුවන. (5.2 රූපය).

**උස්බිම -** භූමියේ උසින් වැඩි ප්‍රදේශ උස්බිම් ලෙස හැඳින්වේ. සිතියමෙහි සමෝච්ච රේඛා එකිනෙකට ළං ව විහිදී තිබීමෙන් උස්බිමක් හඳුනාගත හැකි ය.



**5.2 රූපය - තැනිතලාව**




**5.2 සිතියම - තැනිතලාව සහ උස්බිම**

**ගංගා නිම්නය -** උස්බිම් අතර පිහිටි දිගැටි හැඩයෙන් යුත් පහත් බිම්, නිම්න ලෙස හැඳින්වේ. ප්‍රධාන ගංගා හා අතු ගංගා එම නිම්න ඔස්සේ ගලා බසී.

**ප්‍රධාන ගංගාව -** භූතලය මත උස්බිමක සිට කිසියම් ප්‍රදේශයක් හරහා සාගරයකට හෝ විලකට ගලා බසින විශාල ජල ධාරාව ප්‍රධාන ගංගාව ලෙස හැඳින්වේ.

**අතු ගංගාව -** ප්‍රධාන ගංගාවට ජලය සපයන කුඩා දිය දහරා අතු ගංගා වේ.



**5.3 රූපය - ගංගා නිම්නය**



**5.3 සිතියම - ගංගා නිම්නය**

වෙරළබඩ ප්‍රදේශවල ද විවිධ භූ ලක්ෂණ දක්නට ලැබේ. දූපත, තුඩුව, මුහුදු බොක්ක එවැනි භූ ලක්ෂණ කිහිපයකි.




**5.4 රූපය - දූපත, තුඩුව සහ මුහුදු බොක්ක**

**දූපත -** මුහුදෙන් වට වී ඇති කුඩා ගොඩබිම් ප්‍රදේශ දූපත් නමින් හැඳින්වේ. වයඹදිග වෙරළෙහි යාපන අර්ධද්වීපය ආශ්‍රිත ව දූපත් බහුල ව පිහිටා ඇත.

**තුඩුව -** සාගරය දෙසට නෙරාගිය පටු ගොඩබිම් කොටස් ද වෙරළ තීරයේ දක්නට ඇත. ඒවා තුඩු ලෙස හැඳින්වේ.

මුහුදු බොක්ක - ගොඩබිම දෙසට කා වැදුණු මුහුදු ප්‍රදේශය මුහුදු බොක්ක ලෙස හැඳින්වේ.




**5.4 සිතියම - දූපත, තුඩුව සහ මුහුදු බොක්ක**

## සංස්කෘතික ලක්ෂණ

1:50 000 හූ ලක්ෂණ සිතියමකින් තෝරා ගන්නා ලද සංස්කෘතික ලක්ෂණ කිහිපයක් අධ්‍යයනය සඳහා යොදා ගෙන ඇත.

- දිස්ත්‍රික්ක මායිම
- අධිවේගී මාර්ග
- මහාමාර්ග (A සහ B ශ්‍රේණි)
- සෙසු මාර්ග (ද්විතීයක/ අප්‍රධාන)
- දුම්රිය මාර්ග
- වී, තේ, පොල්, රබර් සහ ගෙවතු වගා බිම්
- ආගමික සිද්ධස්ථාන
- පාසල, රෝහල, පොලිසිය හා තැපැල්හල

මෙම සංස්කෘතික ලක්ෂණ විවිධ සංකේත හා වර්ණ මගින් සිතියමෙහි දක්වා ඇත.




**5.5 රූපය - විවිධ සංස්කෘතික ලක්ෂණ**

ශ්‍රී ලංකා මිනින්දෝරු දෙපාර්තමේන්තුව විසින් සම්මත සංකේත හා වර්ණ සංශෝධනය කර නව සිතියම් පත්‍ර මුද්‍රණය කරනු ලැබේ. දැනට නිම කොට ඇති සිතියම් පත්‍ර අංක 02 පේදුරු තුඩුව සිතියමෙන් උපුටා ගන්නා ලද සිතියම් කොටසක් 5.5 සිතියමෙන් දක්වා ඇත. මෙම නව සිතියම්වල ඇතැම් සංකේත හා වර්ණ වෙනස් කර තිබේ.




**5.5 සිතියම - පේදුරුතුඩුව නව සිතියම (2017)**

## භෞතික ලක්ෂණ හා සංස්කෘතික ලක්ෂණ අතර ඇති සම්බන්ධතාව

ශ්‍රී ලංකාවේ 1:50 000 භූ ලක්ෂණ සිතියම කියවීමේ දී භෞතික හා සංස්කෘතික ලක්ෂණ අතර සම්බන්ධතාවක් ඇති බව ඔබට පැහැදිලි වනු ඇත. ප්‍රදේශයක පවතින භූ විෂමතාව සහ ජලවහනය යන භෞතික ලක්ෂණ එම ප්‍රදේශවල ජනාවාස, භූමි පරිභෝගය, වාරිමාර්ග පද්ධති සහ මාර්ග රටාව යන සංස්කෘතික ලක්ෂණ අතර සමීප සබඳතාවක් පවතී. පරිපාලන මායිම් තීරණය කිරීමේ දී ද බොහෝ දුරට භෞතික ලක්ෂණ උපයෝගී කරගෙන ඇත.

- තැනිතලා ප්‍රදේශවල ජනාවාස පුළුල් ලෙස පැතිරී ඇත. කඳුකර ප්‍රදේශවල ජනාවාස පිහිටා ඇත්තේ ඒ අතර පිහිටි පහත් බිම් හා නිම්න ප්‍රදේශවල යි.
- කෘෂිකාර්මික භූමි පරිභෝගය බොහෝවිට භූ විෂමතාවට හා ජලවහනයට අනුකූල ව ව්‍යාප්ත ව ඇති බව භූ ලක්ෂණ සිතියම්වලින් පැහැදිලි වේ.
- තැනිතලා ප්‍රදේශවල ගංගා නිම්න ආශ්‍රිත ව පුළුල් ව විහිදුණු වී වගා බිම් ද, කඳුකර ගංගා නිම්න ආශ්‍රිත ව පිහිටි බිම්වල පටු දිගටි ලෙස විහිදුණු වී වගා බිම් ද දක්නට ඇත.

- කඳුකර ප්‍රදේශවල තේ වගාව ද, මධ්‍යම උසකින් යුත් කඳු බෑවුම් ප්‍රදේශවල රබර් වගාව ද, වෙරළබඩ සහ අවට ප්‍රදේශවල පොල් වගාව ද, ව්‍යාප්ත ව ඇත.
- වැව් සහ වාරිමාර්ග පද්ධති නිර්මාණය කිරීමේ දී ද, භූ විෂමතාව බලපා ඇති බව පැහැදිලි වේ. හෙල්වැටි අතර පිහිටි කපොලු හරහා ගලා බසින ගංගා හරස් කොට වේලි බැඳීමෙන් වැව් සාදා ඇත. බෑවුමට අනුව ඇළ මාර්ග ඔස්සේ ජලය සම්පාදනය කෙරේ.
- මහාමාර්ග ඉදිකිරීමේ දී ද, භෞතික ලක්ෂණ බලපා ඇත. තැනිතලා ප්‍රදේශවල මාර්ග රටාව බොහෝ විට සෘජු ව විහිදුණ ද කඳුකර ප්‍රදේශවල දී භූ විෂමතාවට අනුකූල ව විහිදෙන මාර්ග රටාවක් දක්නට ලැබේ. එහි දී මාර්ග ඉදිකිරීම සඳහා ගංගා නිම්න හා කපොලු බොහෝ දුරට උපයෝගි කරගෙන ඇත.
- පරිපාලන මායිම් නිර්ණය කිරීමේ දී ගංගා, කඳුවැටි යන භෞතික ලක්ෂණ ද පදනම් කරගෙන ඇත.

භෞතික හා සංස්කෘතික ලක්ෂණ අතර ඇති සම්බන්ධතාව පහත දැක්වෙන සිතියම් කොටස් දෙක අධ්‍යයනය කර වටහාගන්න.




**5.6 සහ 5.7 සිතියම් - භෞතික හා සංස්කෘතික ලක්ෂණ අතර ඇති සම්බන්ධතාව**

### අභ්‍යාසය 01

5.8 සිතියම ඇසුරෙන් පහත දක්වා ඇති ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.

1. සිතියමෙහි දක්වා ඇති භෞතික ලක්ෂණ තුනක් නම් කරන්න.
2. සිතියම්ගත කර ඇති මාර්ග නම් කරන්න.
3. ප්‍රදේශයේ දක්නට ලැබෙන වගාවන් නම් කරන්න.
4. ගංගාවෙන් වෙන් වෙන පරිපාලන මායිම කුමක් ද?
5. ප්‍රදේශයේ බෝග වගාව සහ භූ විෂමතාව අතර ඇති සම්බන්ධතාව දැක්වෙන වාක්‍ය පහක් ලියන්න.




5.8 සිතියම - 1:50000 භූ ලක්ෂණ සිතියම් පත්‍රයක කොටසක්

## ක්‍රියාකාරකම

පහත දැක්වෙන ප්‍රහේලිකාව සම්පූර්ණ කරන්න.

හරහට

01. තැනිතලා ප්‍රදේශවල බහුල ලෙස ව්‍යාප්ත ව ඇත.

04. උස් බිමක සිට ගලාවිත් ප්‍රධාන ගංගාවට එකතු වේ.

06. භූමි පරිභෝග ලක්ෂණයකි.

07. බොහෝ දුරට නගර ආශ්‍රිත ව දක්නට ලැබෙන සේවා ස්ථානයකි.

පහළට

01. ඇළ මාර්ග දිගේ වගා බිම්වලට බෙදා හැරේ.

02. මේවා මගින් වැවේ සිට ගොවි බිම් දක්වා ජලය ගෙන යයි.

03. ගංගා ගලා බසින භූමි ප්‍රදේශය මේ නමින් හැඳින්වේ.

05. සාගරය දෙසට නෙරාගිය පටු ගොඩබිම් කොටසකි.



## ආශ්‍රිත ග්‍රන්ථ සහ මූලාශ්‍ර

- මිහිතලයේ භෞතික පරිසරය, එච්. කේ. එන්. කරුණාරත්න
- ශ්‍රී ලංකා ජාතික සිතියම් සංග්‍රහය, පාසල් මුද්‍රණය, දෙවන සංස්කරණය, ශ්‍රී ලංකා මිනින්දෝරු දෙපාර්තමේන්තුව
- භෞතික භූගෝල විද්‍යාව I කොටස, අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

## පාරිභාෂික වචන

| | | |
|---|---|---|
| • භෞතික ලක්ෂණ | - Physical features | - பௌதிக அம்சங்கள் |
| • සංස්කෘතික ලක්ෂණ | - Cultural features | - பண்பாட்டு அம்சங்கள் |
| • තැනිතලාව | - Plain | - சமவெளி |
| • උස්බිම | - Highland | - உயர் நிலம் |
| • ප්‍රධාන ගංගාව | - Main river | - பிரதான ஆறு |
| • අතු ගංගාව | - Branch river | - கிளையாறு |
| • ගං නිම්නය | - River valley | - ஆற்றுப் பள்ளத்தாக்கு |
| • ද්වීපත | - Island | - தீவு |
| • දිස්ත්‍රික්ක මායිම | - District boundary | - மாவட்ட எல்லை |
| • අධිවේගී මාර්ගය | - Expressway | - பெருந்தெருக்கள் |